# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා  ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති  අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ  අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ  අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සෙඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දම්නී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසා කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමගින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරුපරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළ පොත් පිටු අතර දැවටී ඔබ සමගින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමගම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

## නියාමනය හා අධීක්ෂණය

පී. එන්. අයිලප්පෙරුම — අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## මෙහෙයවීම

ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි — අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## සම්බන්ධීකරණය

ආර්. ඩී. විජේවික්‍රම — නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## සහාය සම්බන්ධීකරණය

එස්. ජී. ඩී. එන්. එල්. සමරකෝන් — සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## අනුශාසකත්වය

ගෞ. ඩබ්ලිව්. පී. එබනේසර් ජෝශප් දේවගැතිතුමා — මහලේකම්,
ජාතික ක්‍රිස්තියානි මණ්ඩලය,
කොළඹ.

## සංස්කාරක මණ්ඩලය

ගෞ. ජයනාත් පණ්ඩිතරත්න දේවගැතිතුමා — සභාපති, ක්‍රිස්තියානි අධ්‍යාපන කොමිසම,
ජාතික ක්‍රිස්තියානි මණ්ඩලය
කොළඹ.

ගෞ. ජේ. ඒ. මිහිරි ද සිල්වා දේවගැතිතුමිය — විධායක ලේකම්,
ක්‍රිස්තියානි අධ්‍යාපන කොමිසම,
ජාතික ක්‍රිස්තියානි මණ්ඩලය,
කොළඹ.

ගෞ. සී. ඩබ්ලිව්. සී. බාල්රාජ් දේවගැතිතුමා — විදුහල්පති,
ශාන්ත තෝමස් විදුහල,
බණ්ඩාරවෙල.

## ලේඛක මණ්ඩලය

ගෞ. ජේ. සී. එස්. රෝහිත ද සිල්වා දේවගැතිතුමා — කුලාචාර්ය,
වෙස්ලි විදුහල,
කොළඹ.

නිලන්ති දීපා ද සිල්වා — ගුරු වෘත්තිය,
මෙතෝදිස්ත උසස් විදුහල,
පුවක් අරඹ, මොරටුව.

| | |
|---|---|
| එම්. රදීකා සමන්ති මෙන්ඩිස් | ගුරු වෘත්තිය,<br>සාන්ත තෝමස් විදුහල,<br>ගල්කිස්ස. |
| නිලූකා චාමිනී උඩුමුල්ල | ගුරු වෘත්තිය,<br>කිංග්ස්වුඩ් විද්‍යාලය,<br>මහනුවර. |
| ඞී. ග්ලෝරි හෙබ්සිබා | ගුරු වෘත්තිය,<br>ගම්පොළ හින්දු විදුහල,<br>ගම්පොළ. |
| එන්. පී. සෙල්වනිදි පෙරේරා | ගුරු වෘත්තිය, (විශ්‍රාමික) |

**භාෂා සංස්කාරක**

| | |
|---|---|
| වයි. ප්‍රීති නීලමනි පුෂ්පමාලා විමලසිරි | ගුරු උපදේශිකා (සිංහල),<br>කලාප අධ්‍යාපන කාර්යාලය,<br>ශ්‍රී ජයවර්ධනපුර,<br>බත්තරමුල්ල. |

**පරිගණක අක්ෂර සංයෝජනය, පිටු සැලසුම්කරණය හා පිටකවර නිර්මාණය**

ෂර්වෝන් මෙන්ඩිස්

# පටුන

# 1. අප සුරකින මැවුම්කරුවාණෝ

මිනිසාට දේව මැවිල්ලේ ප්‍රධාන තැනක් හිමි වේ. විශේෂයෙන් කුඩා දරුවන් වන ඔබගේ ජීවිතය දෙවි පියාණන් වහන්සේ ඉදිරියේ සුවිශේෂ වේ. මේ පිළිබඳ අධ්‍යයනය කිරීම මෙම පාඩම තුළින් අපේක්ෂිත ය.

**උත්පත්ති 2:7-8, ශු. මතෙව් 6:25-34, 18:6**

"දෙවි සමිඳාණන් වහන්සේ
පූර්ව දිශාවේ ඒදන් උයනක් තනා
තමන් මැවූ මනුෂ්‍යයා එහි පිහිටෙවු සේක."
උත්පත්ති 2:8

### ඒදන් උයන

දෙවි පියාණන් වහන්සේ පොළොවෙන් ගත් දූවිල්ලෙන් මනුෂ්‍යයා නිර්මාණය කොට ජීවන හුස්ම ලබා දී මනුෂ්‍යයා වෙත ජීවය ලබා දුන් සේක. මේ නිසා මැවිල්ල තුළ මනුෂ්‍යයාට ප්‍රධාන තැන හිමි වේ. එසේ ම දෙවියන් වහන්සේ විසින් මිනිසා ඒදන් උයනෙහි පදිංචි කර වූ බව ශුද්ධ බයිබලය අපට පෙන්වා දෙයි. දෙවියන් වහන්සේ ඒදන් උයන තුළ මනුෂ්‍යයාට ජීවත් වීමට අවශ්‍ය සුරක්ෂිත පරිසරයක් ලබා දුන් සේක. එපමණක් නොව උන්වහන්සේ ඒදන් උයන ආරක්ෂා කිරීමේ වගකීම ද මනුෂ්‍යයා වෙත පැවරූ සේක.

## මැවිල්ල තුළ දේව රැකවරණය

අහසේ කුරුල්ලන් දෙස බලන්න.
උන් වපුරන්නේවත්, කපන්නේවත්
අටු කොටුවල
රැස් කරන්නේවත් නැත.
එහෙත්
ඔබේ ස්වර්ගීය පියාණන් වහන්සේ
උන් පෝෂණය කරන සේක.
ඔබ ඔවුනට වඩා බොහෝ වටිනවා
නොවේ ද?
ශු. මතෙව් 6:26



අහසේ නිදහසේ පියාසර කරන කුරුල්ලන් ගැන මොහොතක් සිතන්න. එම කුරුල්ලන්ගේ ජීවිත කෙතරම් නිදහස් ද? එලෙස පියාසර කරන පක්ෂීන්ට පවා දෙවියන් වහන්සේ රැකවරණය හා පෝෂණය ලබා දෙන බව ඉහත බයිබල් පාඨයෙන් පැහැදිලි වේ. එසේ නම් මැවිල්ලේ ප්‍රධාන තැන හිමි වන මනුෂ්‍යයාගේ ජීවිතය ද දෙවි පියාණන් වහන්සේ සුරකින සේක. එම නිසා අනවශ්‍ය දේ ගැන අප කරදර නොවී සිටීම වැදගත් වේ.

"කුමක් කමු ද?" කියා ජීවිතය ගැනවත් "කුමක් අඳිමු ද?" කියා ශරීරය ගැනවත් අප කරදර නොවිය යුතු බව ජේසුස් වහන්සේ පෙන්වා දුන් සේක.

මෙහි දී අපට පෙනෙන්නේ, දෙවියන් වහන්සේ කෙරෙහි විශ්වාසයෙන් අප ජීවත්වීම වැදගත් බවයි. අප විශ්වාස කරන්නේ අපගේ අවශ්‍යතා මොනවා ද කියා අප ඉල්ලන්ටත් පෙර දන්නා වූ දෙවියන්වහන්සේ ය. අපි බොහෝ විට අපගේ ජීවිතය ගොඩනැගීමට අවශ්‍ය දේ නොඉල්ලා වෙනත් කාරණා දෙවියන් වහන්සේගෙන් ඉල්ලමු.

එම නිසා අප සෑමවිට ම කලබල වී ඒවා ගැන සිත් තැවුල් ඇති කර ගැනීම සුදුසු නොවේ. දෙවියන් වහන්සේ තමන් වහන්සේගේ මැවිල්ල සුරක්ෂිත කරන සේක. එහෙයින් උන් වහන්සේ අපගෙන්, බලාපොරොත්තු වන්නේ කුමක් ද? අප සෙවිය යුත්තේ කුමක් ද?

**එහෙත් පළමු කොට**
**උන් වහන්සේගේ රාජ්‍යය ද,**
**ධර්මිෂ්ඨකම ද සොයන්න.**
**එවිට මේ සියල්ලත් ඔබට දෙනු ලැබේ.**
**(මතෙව් 6:33)**

දෙවියන් වහන්සේ සමග සම්බන්ධ වීම පළමු කොට අවශ්‍ය වෙයි. උන් වහන්සේගේ රාජ්‍යයට අයිති දරුවන් ලෙස ජීවත්වීම උන් වහන්සේ බලාපොරොත්තු වන සේක. උන් වහන්සේට අයිති දරුවන්ගේ ජීවිතවල පැවතිය යුතු දේව ගුණාංග සහිතව ජීවත්වීම අවශ්‍ය වෙයි.

එසේ අප දෙවියන් වහන්සේ කෙරේ විශ්වාසය තබමින්, උන් වහන්සේට අයිති දරුවන් සේ දිවි ගෙවන විට, අපගේ ජීවිතයේ අවශ්‍යතාවන් උන් වහන්සේ නිසි ලෙස අපට සපයා දෙන සේක.

## දේව මැවිල්ල තුළ දරුවන්ගේ රැකවරණය

දෙවියන් වහන්සේ උන් වහන්සේගේ මැවිල්ල තුළ දරුවන්ගේ ජීවිතවල සුරක්ෂිතභාවය සලසන සේක. ජේසුස් වහන්සේ ප්‍රකාශ කළ මෙම වචන තුළින් එම සුරක්ෂිතභාවය පිළිබඳව මනාව පැහැදිලි වෙයි.

"මා කෙරෙහි අදහා ගත් මේ
බාලයන්ගෙන් එකකුවත් නොමග
යවන යමෙක් වේද,
ඔහුගේ ගෙල වටා මහා ඇඹරුම්
ගලක් එල්ලා
මුහුදු ගැඹුරෙහි ගිල්වා දැමීම
ඔහුට යහපත"
ශු. මතෙව් 18:6



තවද ජේසුස් වහන්සේ දරුවන්ගේ ජීවිතවල අලංකාරත්වය හා වටිනාකම වැදගත් කොට සැලකූ සේක. ඒ නිසා දරුවන් ආරක්ෂා කිරීම සඳහා සමාජයට වැඩිපුර වගකීමක් පැවරෙන බව පෙන්වා දුන් සේක. වැඩිහිටියන්ගේ වැරදි නිසා එහි ප්‍රතිඵල දරුවන් මත පැමිණේ නම් දෙවියන් වහන්සේගේ උදහස ද ඒ සමග පැමිණෙන බව උන් වහන්සේ පැහැදිලි කළ සේක.

## අද සමාජය තුළ දරුවන්ට ඇති පීඩාවන්

- විවිධ පාරිසරික හානි හේතුවෙන් අනාථ වීම (ගංවතුර, ජල ගැලීම්, නාය යෑම්, භූමි කම්පා, සුළි සුළං, නියඟය)
- දුප්පත්කම නිසා ඇතිවන බලපෑම්
- විවිධ හිංසනවලට ගොදුරු වීම
- විවිධ අතවරවලට හා අපචාර වැනි හිංසනවලට ගොදුරු වීම
- මව පියා විදේශ ගතවීම නිසා ඇතිවන බලපෑම්
- ළමා මෙහෙකාරකමෙහි යෙදවීම
- යුද්ධයෙහි අනිසි විපාක
- දෙමාපිය සබඳතා දෙදරා යාම
- මත් ද්‍රව්‍යවලට ඇබ්බැහි වීම
- විවිධ අපචාර හා අපරාධවලට ගොදුරු වීම.

වත්මන් සමාජය තුළ ද ළමා අයිතීන් සුරැකීම උදෙසා විවිධ ආයතන දායක වේ. එවැනි ආයතන කිහිපයක් පහත දැක්වේ.

- ළමා හා කාන්තා කටයුතු අමාත්‍යාංශය
- ශ්‍රී ලංකා පොලිස් ළමා හා කාන්තා කාර්යාංශය
- පරිවාස හා ළමා රක්ෂණ දෙපාර්තමේන්තුව
- එක්සත් ජාතීන්ගේ ළමා රක්ෂණ අරමුදල
- රාජ්‍ය නොවන ස්වෙච්ඡා සංවිධාන

ළමුන්ගේ ආරක්ෂාව සැපයීම වෙනුවෙන් 1929 දුරකථන අංකය හඳුන්වා දී ඇත.
ළමා කාලයේ සිදුවන අඩුලුහඬුකම්වල දී, උසාවි නියෝගයෙන් දරුවන්ට සෙවණ දෙන ආයතන වන්නේ SOS ආයතනය, ශ්‍රී ලංකා ගැලවීමේ හමුදා දේවස්ථානයේ හේවන් ළමා සුරැකුම් නිවෙස යනාදිය යි.

වර්තමානයේ දී දරුවන්ට සිදු වන පීඩා පිළිබඳව දැනුවත් කිරීමටත්, එවැනි ක්‍රියාකාරකම්වලට එරෙහිව නීතිමය ක්‍රියාමාර්ග ගැනීමටත් ඉහත සඳහන් ආයතන උපකාරී වේ. ඔබ ජීවත් වන පරිසරයේ කිසියම් දරුවකු පීඩාවට පත් වේ නම් එම තත්ත්වයෙන් එම දරුවා මුදවා ගැනීමට උපකාර වීම ඔබ සතු වගකීමකි. එවැනි පීඩාවට පත්වන දරුවන් පිළිබඳව වැඩිහිටියන් හෝ පාසලේ ගුරුවරුන් දැනුවත් කිරීමෙන් ඔවුන්ගේ ජීවිත ආරක්ෂා කරගත හැකි වේ.

දෙවි පියාණන් වහන්සේ මෙසේ ඔබගේ ජීවිතය සුරකින්නාක් මෙන්, ඔබත් අන් අයගේ ජීවිත සුරැකීමට ක්‍රියා කළ යුතු ය. එමෙන් ම සෑම පුද්ගලයෙකුටම ගරු කිරීමත් වැදගත් වේ. මන්ද සෑම කෙනකුම දේව ස්වරූපයෙන් නිර්මාණය වී ඇති බැවිනි. මෙසේ ඔබගේ ජීවිතය වටිනාකමින් යුත් ජීවිතයක් බව සිතට ගන්න. දෙවියන් වහන්සේ මැවිල්ල සුරකින අතර ඔබ ද, විශේෂයෙන් රැක බලා ගන්නා බව විශ්වාස කරන්න. එසේම ඔබත් සමාජයේ ජීවත්වීමේ දී එකිනෙකා සුරක්ෂිත කිරීමට ක්‍රියා කළ යුතු බව ද සිතේ තබාගෙන ජීවත් වන්න.

**ක්‍රියාකාරකම**

**1.** පාසලේ දී ඔබේ මිතුරාගේ හෝ මිතුරියගේ ආරක්ෂාව වෙනුවෙන් ඔබ විසින් ක්‍රියා කරන ලද අවස්ථාවක් විස්තර කරන්න.

**2.** ශු. මතෙව් 6:25–34 තුළින් දෙවියන් වහන්සේ තම නිර්මාණය සුරක්ෂිත කරන ආකාරය පිළිබඳ කරුණු 3 ක් ලියන්න.

# 2. මැවිල්ල සුරකින අපි

**දෙවියන් වහන්සේ මැවූ සුරක්ෂිත ලෝකය, නඩත්තු කිරීමේ වගකීම දෙවියන් වහන්සේ විසින් පවරා ඇත්තේ අපට ය. ඒ සම්බන්ධ ව වැඩිදුර දැනුවත් වීම මෙම පාඩමෙන් අපේක්ෂිත ය.**

## උත්පත්ති 1:28-30, 2:15

**දෙවියන් වහන්සේ ඔවුන්ට ආසිරි පතමින්**
**"නුඹලා දරු සම්පත් ලබා වැඩි වර්ධනය වී**
**පොළොව පුරා පැතිර එය යටත් කරගන්න.**
**මුහුදේ මසුන් කෙරෙහි ද, අහසේ පක්ෂීන් කෙරෙහි ද,**
**පොළොවේ සැරිසරන සියලු සතුන් කෙරෙහි ද**
**බලය පවත්වන්නැ"යි ඔවුනට වදාළ සේක.**
**(උත්පත්ති 1:28)**

දෙවි පියාණන් වහන්සේ මිනිසා මනහර ඒදන් උයනේ පදිංචි කර වූ අතර එම උයන තුළ මිනිසාට සතුටින් ජීවත් වීමට අවශ්‍ය වටපිටාව නිර්මාණය වී තිබුණි. එම සියලු ම මැවිල්ල මනුෂ්‍යයා වෙත දෙවියන් වහන්සේ බාර දුන් සේක. මනුෂ්‍යයා වෙත දෙවියන් වහන්සේ ආශිර්වාද කරන්නේ දේව මැවිල්ල රැක බලා ගැනීමේ වගකීම ද පවරමිනි.

**දෙවි පියාණන් වහන්සේ මිනිසාට ලබා දුන් වගකීම්**

- දරු සම්පත් ලබා වර්ධනය වීම
- පොළොව පුරා පැතිර එය පාලනය කිරීම
- සතුන් නඩත්තු කිරීම හා පාලනය
- භූමිය රැකගෙන එය වගා කිරීම
- මැවිල්ලෙන් නිසි ප්‍රයෝජන ගැනීම

පහත බයිබල් පාඨය තුළින් එය තවදුරටත් තහවුරු වේ.

**ඒදන් උයන වගා කර එය රැකබලා ගැනීම පිණිස**
**දෙවි සමිඳාණන් වහන්සේ මිනිසා රැගෙන**
**ඔහු එහි පදිංචි කරවූ සේක.**
**උත්පත්ති 2:15**

එදා දෙවි සමිඳාණන් වහන්සේ, ඒදන් උයන රැක බලාගන්නා පිණිස මිනිසා එහි පදිංචි කරවූ සේක. ඒදන් උයන රැකබලා ගැනීම යනු මුළු මැවිල්ල සුරැකීම යි. එසේ ම මැවිල්ල වර්ධනය කිරීමත් එම මැවිල්ල තුළින් නිසි ප්‍රයෝජන ගැනීමත් මිනිසාගේ වගකීම වේ.

මෙනෙහි කරන්න.




වර්තමාන සමාජය තුළ මිනිසාගේ ආත්මාර්ථකාමී ක්‍රියාකාරකම් නිසා දේව මැවිල්ල වෙත අහිතකර බලපෑම් ඇති වී තිබේ. එයින් මිනිසාට ගංවතුර, නායයෑම්, නියඟය, ලෙඩ රෝග, වැනි අයහපත් ප්‍රතිවිපාකවලට මුහුණ දීමට සිදු වී ඇත.

## මිනිසා විසින් දේව මැවිල්ල විනාශ කරන අවස්ථා මොනවා ද?


ගස් කපා වනාන්තර එළි පෙහෙළි කිරීම


අපවිත්‍ර ජලය පිරිසිදු ගංගාවලට මුදා හැරීම


වායු දූෂණය


පරිසර දූෂණය

දේව මැවිල්ල අහිතකර මිනිස් ක්‍රියාකාරකම් හේතුවෙන් දූෂණයට ලක්වන අවස්ථා කිහිපයක් ඉහත රූප සටහන්වලින් ඔබට අවබෝධ කරගත හැකි වේ. එම දූෂිත තත්ත්වයෙන් ලෝකය ආරක්ෂා කර ගැනීමට ඔබට පහත ක්‍රියාමාර්ග අනුගමනය කළ හැකි වේ.

❖ නිවස අවට පරිසරය සුරැකීම.

❖ පාසල අවට පරිසරය පිරිසිදුව පවත්වාගෙන යෑම.

❖ පාසල තුළ ක්‍රියාත්මක වන පරිසරය සුරැකීමේ සංවිධානවලට සම්බන්ධ වී ක්‍රියා කිරීම.

❖ ඔබේ ප්‍රදේශයේ පරිසරය සුරැකීමට පිහිටා ඇති සංවිධානවලට සම්බන්ධ වී ක්‍රියා කිරීම.

❖ පරිසරය සුරැකීමට ක්‍රියාත්මක වන ශ්‍රමදාන සඳහා දායක වීම.

❖ පොලිතීන් ප්ලාස්ටික් වැනි දිරාපත් වීමට දිගුකලක් ගතවන දේ භාවිතයෙන් ඈත් වීම.

❖ සම්පත් අරපිරිමැස්මෙන් භාවිත කිරීම.

❖ පරිසරයට ආවේණික ගහකොළ, සතුන් ආරක්ෂා කරගැනීම

දෙවි සමිඳාණන් වහන්සේ අපට ලබා දුන් මැවිල්ල ආරක්ෂා කරමින් වැඩි දියුණු කර අනාගත පරපුර වෙත දායාද කිරීම අපගේ වගකීම ය. අප වෙත දෙවියන් වහන්සේ ලබා දී ඇති සම්පත් අරපිරිමැස්මෙන් භාවිත කළ යුතු ය. එසේ ම අපට පමණක් නොව අන් අයගේ ජීවිත ද සුරක්ෂිත කරන පරිසරයක් ලබා දීම අපගේ යුතුකමක් හා වගකීමක් ද වෙයි.

**ක්‍රියාකාරකම**

**1.** මැවිල්ල ආරක්ෂා කිරීමට, වර්ධනය කිරීමට හා නිසි ප්‍රයෝජන ගැනීමට ඔබ විසින් ගන්නා ක්‍රියාමාර්ග 2 ක් ලියන්න.

**2.** විදුහලේ පරිසර සංවිධානයේ වාර්ෂික පරිසරය සුරැකීමේ සැලැස්මක් සෑදීමට කමිටු සාමාජිකයකු ලෙස ඔබට පැවරී ඇතැයි සිතන්න. ඒ සඳහා ඔබ ඉදිරිපත් කරන යෝජනා 5 ක් ලියන්න.

# 3. දේව නිර්මාණයේ අඛණ්ඩ පැවැත්ම

**දෙවිපියාණන් වහන්සේ නිර්මාණය කළ මනහර ලෝකය විස්මයජනකය. මිනිස් මනසට සම්පූර්ණ ලෙස තේරුම් ගත නොහැකි බොහෝ දේ අදටත් දේව මැවිල්ල තුළ අනාවරණය වෙමින් පවතී. විශ්වයේ පැවැත්ම තුළ අද දක්වා සිදුවන දේව මැවිල්ලේ අඛණ්ඩ සංවර්ධනය පිළිබඳව මෙම පාඩමින් විමසා බැලීමට අපේක්ෂිත ය.**

**ජෝබ් 36:25-33**

**දිය බිඳු පොළවෙන් ඉහළට ඇදගෙන**
**වාෂ්ප මගින් වැසි වස්සන්නේ දෙවිඳාණෝ ය.**
**වලාකුළුවලින් වැස්ස මවා සව් සත වෙත එය එවන්නේ**
**එතුමාණෝය.**
**ජෝබ් 36: 27-28**

ඉහත බයිබල් පාඨය අධ්‍යයනය කිරීමෙන් අපට ජල බිඳුවක ක්‍රියාකාරීත්වය අවබෝධ වේ. එය කෙතරම් විස්මයජනක දේව නිර්මාණයක් දැයි සොයා බලමු.

ජලය
- ද්‍රවයකි
- වායුවකි
- ඝන ද්‍රව්‍යය කි

දේව නිර්මාණයක් වන ජලය ලෝකය තුළ ද්‍රවයක් ලෙසත්, වායුවක් ලෙසත් තවත් විටෙක ඝන ද්‍රව්‍යයක් ලෙසත් ක්‍රියා කරයි. එය දේව මැවිල්ලේ අඛණ්ඩ ක්‍රියාකාරීත්වය අද දිනයේ දී ද හෙළි කරන අවස්ථාවක් ලෙස පෙන්වා දිය හැක.

මෙම රූපයෙන් මෙය අවබෝධ කරගන්න.



මෙම දෙබසට අවධානය යොමු කරමු.

හිරු :- සුභ දවසක් වේවා! වැහි වලාව. සෑහෙන කාලයකට පස්සේ නේද අපි හමුවුණේ.

වැහි වලාකුළ :- ඔබටත් එසේම වේවා! ඔබ කී දේ හරි, මට ඔබ මුණ ගැසුණේ ටික කාලයකට පසුව තමයි.

හිරු :- මතක ද එදා ඔබ විශාල වර්ෂාවක් වෙලා පොළොව මතුපිටට වැටුණ දවස?

වැහි වලාකුළ :- මොකද මට මතක නැත්තේ? එදා ඉඳලා ජල බිඳුවක් ලෙස ලෝකයේ නොයෙක් තැන්වල සැරිසරලා මුළු පොළෝතලය ම සාරවත් කරලා තමයි ආයෙමත් මම අහසට ආවේ.

හිරු :- මට වෙලාවකට පුදුම හිතෙනවා ඔබේ ජීවිතය ගැන. අහසේ දී ඔබ වලාකුළක් ලෙස පොළොවේ අයට සිසිල දෙනවා. වර්ෂාවක් ලෙස පොළොව සාරවත් කරනවා. නැවතත් ජල වාෂ්පයක් ලෙස අහසට නැග වලාකුළක් බවට පත් වෙනවා.

වැහි වලාකුළ :- පුදුම වෙන්න දෙයක් නැහැ යාළුවා මා වාගේ තව කොච්චර දේව නිර්මාණ දෙවියන් වහන්සේ මවා තිබෙනවා ද?

හිරු :- මොනවා ද ඒ නිර්මාණ?

වැහි වලාකුළ :- ඔබ ගැන හිතන්න, ඔබ උදෑසන ලෝකය ආලෝකමත් කරලා සවසට බැස යනවා. ඔබේ යහළු සඳ රාත්‍රිය මුළුල්ලේ ම ලෝකය ආලෝකමත් කරලා උදෑසනට බැස යනවා.

හිරු :- ඇත්ත තමයි, අපි වාගේ විස්මිත දේව නිර්මාණ තව කොපමණ ඇද්ද? විස්මිත ලෙස අප මැවූ දෙවි පියාණන් වහන්සේට අපි තුති පුදමු.

ඉහත දෙබස තුළින් විශ්වයේ චක්‍රාකාරව ක්‍රියාත්මක වන දේව නිර්මාණ කීපයක් පිළිබඳව ඔබට වැටහෙන්නට ඇත. මිහිතලය තුළ චක්‍රාකාර ලෙස ඉදිරියට ගමන් කරන දේව නිර්මාණ කීපයක් පහත දැක්වේ.



ඉහත රූප සටහනට අනුව දෙවියන් වහන්සේගේ මැවිල්ලේ අඛණ්ඩ ක්‍රියාවලිය කොතෙක් දුරට අද සිදුවේදැයි ඔබට වටහා ගත හැකි වේ. එම අඛණ්ඩ දේව ක්‍රියාකාරීත්වය නොමැතිව ලෝකයේ පැවැත්ම ඉදිරියට ගමන් නො කරයි. එයට ඔබට දායක විය හැකි අවස්ථා කීපයක් පහත දැක්වේ.

- ස්වාභාවික වනාන්තර ආරක්ෂා කිරීම.
- අවට පරිසරයේ තුරු ලතා ආරක්ෂා කිරීම.
- ජලය අරපිරිමැස්මෙන් භාවිතා කිරීම.
- පරිසරයේ ජීවත්වන සතුන්ගේ ජීවිත රැකගැනීම.
- වඳ වී ගෙන යන සතුන්ගේ ජීවිත සුරැකීම.
- අවිධිමත් ලෙස වගුරු බිම් ගොඩ කිරීමෙන් වැළකීම.

ඉහත ක්‍රියාමාර්ග අනුගමනය කිරීමෙන් පරිසරයට සමීප ජීවිතයක් ගත කිරීමට ඔබට අවස්ථාව උදා වනු ඇත. ඒ තුළින් ඔබේ ජීවිතයට ද පරිසරයේ රැකවරණය ලැබේ.

දේව මැවිල්ලේ අඛණ්ඩ ක්‍රියාකාරීත්වය අතීතය වර්තමානය හා ස්ථිර ලෙස අනාගතය තුළ දී ද ඉදිරියට ගමන් කරන්නකි. දේව මැවිල්ලේ අඛණ්ඩ පැවැත්ම පිළිබඳව දෙවියන් වහන්සේට තුති පිදීම අපගේ යුතුකමකි. එපමණක් නොව දෙවි පියාණන් වහන්සේ අපගෙන් බලාපොරොත්තු වන අයුරින් මැවිල්ලේ අඛණ්ඩ වර්ධනය උදෙසා ඇපකැප වීම අපගේ වගකීමකි.

### ක්‍රියාකාරකම

**1.** ශු. බයිබලයේ ජෝබ් 36:5-33 දක්වා පාඨයන් අධ්‍යයනය කර දෙවි පියාණන් වහන්සේගේ ක්‍රියාකාරීත්වය අද ද පවතින අවස්ථා කීපයක් ලියන්න.

**2.** අඛණ්ඩව සිදුවන දේව මැවිල්ල වර්ධනය කිරීමට ඔබට ගත හැකි ක්‍රියාමාර්ග 5ක් ලියන්න.

# 4. තිරසර පෙමින් යුත් දෙවිඳාණෝ

**දෙවි පියාණන් වහන්සේගේ ස්ථිර ප්‍රේමය කෙරෙහි විශ්වාසය තබමින් දේව ගරුබිය ඇති ජීවිතයක් ගොඩනගා ගැනීම මෙම පාඩමෙන් අධ්‍යයනය කිරීමට අපේක්ෂිත ය.**

## ගීතාවලිය 103:1-17

ගීතාවලියේ 103 වන ගීතිකාව තුළ මනුෂ්‍යයන් කෙරෙහි දෙවියන් වහන්සේගේ ස්ථිර ප්‍රේමය පහත සඳහන් ආකාරයට විස්තර කෙරේ.

- සියලු රෝගවලින් ආරක්ෂා කොට යහපත් දෙයින් තෘප්තියට පමුණුවන ප්‍රේමයකි.
- පාපයෙන් ගලවා ප්‍රේමයෙන් හා දයාවෙන් සරසන ප්‍රේමයකි.
- අනුකම්පාවෙන් හා දයාවෙන් පූර්ව කරුණාව දක්වන ප්‍රේමයකි.
- පියකු සේ වරදට කමා වන ස්ථිර ප්‍රේමයකි.
- සදාකාලික ප්‍රේමයකි.

දෙවියන් වහන්සේගේ මෙම ප්‍රේමයට සමාන කිරීමට මිහිපිට කිසිවක් නොමැත. එතුමාගේ ස්ථිර ප්‍රේමය සෑම විට ම අප යහමඟට යොමු කරන සේක. නපුරු ක්‍රියාවන්ගෙන් අප දුරස් කර එයින් අප මුදවා ගනී.

දෙවියන් වහන්සේගේ ස්ථිර ප්‍රේමය තුළ අප වෙත ලැබෙන වරප්‍රසාද මොනවාදැයි සොයා බලමු.



දෙවි පියාණන්ගේ ස්ථිර ප්‍රේමය තුළ ඔබ ලබන වරප්‍රසාද තුළින් අන් අයගේ ජීවිත ගොඩනගා ගැනීමට ක්‍රියා කිරීම වැදගත් වේ.

මෙලොව ජීවත් වන සෑම කෙනෙක් ම යම් ආකාරයකින් පවුලකට අයත් වේ. පවුලේ නිර්මාතෘවරයාණන් වන්නේ දෙවියන් වහන්සේ ය. පවුල් එකතුවීම තුළින් සමාජයක් නිර්මාණය වෙයි.

පවුලක් හා සමාජයක් වශයෙන් අප එකට ජීවත් වීමේ දී ලැබෙන විශේෂ වටිනාකම් ඇත.

- ආදරය
- රැකවරණය
- පරිත්‍යාගය
- ධෛර්යවත් කිරීම
- සමාව දීම හා ලැබීම්

මෙලෙස අප පවුලක් ලෙස එකට ජීවත් වීමේ දී අප අතර පවතින වටිනාකම් උසස් සමාජයක් නිර්මාණය කිරීමට ඉවහල් වේ. දෙවියන් වහන්සේගේ ස්ථිර ප්‍රේමය තුළින් එම වටිනාකම් අප වෙත උරුම වී තිබේ.

දෙවියන් වහන්සේගේ තිරසර ප්‍රේමයෙන් අප ලද වටිනාකම්, සමාජය වෙත දක්විය යුතු ආකාරය පහත සඳහන් වගුවෙන් තේරුම් ගත හැකි ය.

| දෙවිඳුන්ගේ තිරසර ප්‍රේමය තුළින් අප ලබන වටිනාකම් | | අන් අයට පරිත්‍යාග කළ යුතු ප්‍රේමයේ දීමනා |
|---|---|---|
| නිරෝගී බව | → | සුවය අපේක්ෂා කරන්නන් සුවපත් කිරීමට පිහිට වීම. |
| පාපයෙන් ආරක්ෂා වීම | → | පාපයෙන් මුදවා ගැනීම |
| වැරදිවලට සමාව | → | වැරදි කරන අයට සමාව දීම |
| අනුකම්පාව හා කරුණාව | → | අසරණ අයට අනුකම්පා කිරීම |
| යහපත තුළින් පූර්ණ සතුට | → | යහපත තුළින් සතුට සෙවීමට යොමු කරවීම |
| යුක්ති ගරුක බව හා සාධාරණත්වය | → | පීඩිත වූවන්ට සාධාරණත්වය ඉටු කිරීම |
| දේව දරුකම | → | සෑම කෙනෙක් ම දේව දරුවන් ලෙස සලකා ගරු කිරීම |

දෙවියන් වහන්සේගේ තිරසර ප්‍රේමය තුළින් ශක්තිමත් වන ඔබ අන් අයගේ ජීවිත නගා සිටුවීමට ඇපකැප වීම වැදගත් වේ. ඒ තුළින් අපට දෙවි පියාණන් අපේක්ෂා කරන යුක්තිගරුක සාධාරණ දේව රාජ්‍යය බිහි කිරීමට හැකි වනු ඇත.



**සමිඳුන්ගේ තිර පෙම**
**තමන්ට ගරුබිය පාන**
**අය කෙරෙහි**
**සදා කාලයෙන්**
**සදාකාලයට වේ.**
**ගීතාවලිය 103: 17**

ඉහත බයිබල් පාඨයට අනුව ඔබ දේව ගරුබිය ඇති ජීවිතයක් සඳහා කැඳවා ඇති බව තහවුරු වේ.

## දේව ගරුබිය යනු කුමක් ද?

ශුද්ධ බයිබලයේ ජෝබ් 28-28 ට අනුව දේව ගරුබිය පෑම යනු ප්‍රඥාවේ උල්පත ලෙස පෙන්වා දෙයි. එමඟින් ඔබට දේව ගරුබිය ඇති ජීවිතයක් වෙත ගමන් කළ හැකි වේ.

ඔබගේ ජීවිතයට කුඩා කල සිට යහපතට මුල් තැන දෙමින් දෙවි පියාණන් වහන්සේට වඩාත් ළං වූ ජීවිතයක් ගත කිරීමට උත්සාහ කරන්න.

## දේව ගරුබිය ඇති ජීවිතයක් ගත කිරීමට ඔබ කළ යුතු දේ කුමක්ද?

- දේව වචනය හැදෑරීම හා මෙනෙහි කිරීම
- දිනපතා යාච්ඤාව තුළින් දෙවි පියාණන් සමඟ සම්බන්ධ වීම
- දේව පනත්වලට කීකරු වීම
- ඉරුදින දේව මෙහෙයට සහභාගී වීම
- සැමවිට යහපතට මුල්තැන දෙමින් ක්‍රියා කිරීම
- ආගමික වතාවත් සඳහා උද්‍යෝගයෙන් සහභාගී වීම
- සමාජය තුළ දේව දරුවකු වශයෙන් ආදර්ශවත් ජීවිතයක් ගත කිරීම.

ඉහත ජීවිත රටාවකට අනුගත වීම තුළින් දෙවි පියාණන් වහන්සේට ගරුබිය ඇති ජීවිතයක් ගත කිරීමට උත්සාහ කිරීම වැදගත් වේ. තවද ඔබගේ අසල්වැසියා ගෞරවයෙන් පිළිගැනීමට ද සූදානම් විය යුතු ය. එවිට දෙවියන් වහන්සේගේ ස්ථිර ප්‍රේමය සදහට ම ඔබගේ ජීවිතය තුළ පවතිනු ඇත.

### ක්‍රියාකාරකම

1. ගීතාවලිය 103:1-17 පාඨය තුළින් දෙවියන් වහන්සේගේ තිරසර ප්‍රේමය පිළිබඳ සඳහන් කරුණු ගොනු කරන්න.

2. දේව ගරුබිය ඇති ජීවිතයක් ගත කිරීමට ඔබ අනුගමනය කරන ක්‍රියා පිළිවෙළ 04 ක් දක්වන්න.

# 5. දූත සේවයක අසිරිය

**ජේසුස් වහන්සේගේ පරිපූර්ණ ජීවිතයට හා සේවයට මඟ සැලසීම සඳහා ස්නාවක ජොහාන්තුමා විසින් ඉටුකරන ලද පෙරමඟ දූත සේවය ඉතා වැදගත් තැනක් ගනී. එම පෙරමඟ දූත සේවය හා ඉන් අපට උගත හැකි පාඩම් පිළිබඳව මෙම පාඩම මඟින් කරුණු විමසා බැලීම අපේක්ෂිත ය.**

## ශු. මතෙව් 3: 1-12

මසකට වරක් පවත්වන "වට මේසයේ සැඳෑවට" අදත් මිතුරු මිතුරියන් හැම දෙනා ම ඇවිත්. මේ හැම දෙනා ම ඉරුදින දහම් පාසලේ හා දින පාසලේ එකම පන්තියේ මිතුරු මිතුරියන්. පුරුදු පරිදි වට මේසයේ සැඳෑව මෙහෙයවන්න සුහද අයියාත් වේලාසනින් ම ඇවිත්. "හොඳයි නංගි මල්ලි අදත් අපි වට මේසයේ සැඳෑව පටන් ගනිමු. පසන් මල්ලි දෙව් යැදුමකින් අපට මඟ පෙන්වයි." පසන් මල්ලිගේ දෙව් යැදුමෙන් වට මේසයේ සැඳෑව ඇරඹුණා.

සුහද අයියා - අද සංවාද මාතෘකාව හඳුන්වා දෙන්නේ රංගන මල්ලි. (අත්පොළසන් හඬ) ඔව්. රංගන මල්ලි, මොකක්ද අද මාතෘකාව.

රංගන - අද අපි සාකච්ඡා කරන්නට යන්නේ, කිතුනු අප සැම දෙනාට ම ඉතාමත් වැදගත් මාතෘකාවක්. ඒ වගේ ම ශුද්ධ බයිබලයේ ශ්‍රේෂ්ඨ චරිතයකට අදාළ මාතෘකාවක්. එය තමයි ස්නාවක ජොහාන්තුමාගේ පෙරමග දූත සේවය.

සුහද අයියා- දැන් ආරම්භයේ දී ම සහනි නංගී ස්නාවක ජොහාන්තුමා පිළිබඳව කෙටි හැඳින්වීමක් ඉදිරිපත් කරයි.

සහනි - ස්නාවක ජොහාන්, සෙකරියස් සහ එළිසබෙත්ගේ මහලු වියේ ලැබුණු පුත්‍රයා යි. උපතේ දී පටන් ස්නාවක ජොහාන් විශේෂ දූත මෙහෙයකට කැප කළ කෙනෙක් බව ගාබ්‍රියෙල් දේවදූතයා සෙකරියස්ට ප්‍රකාශ කර තිබුණා.

සුහද අයියා -මී ළඟ අවස්ථාව අමල් මල්ලීට.

අමල් - ස්නාවක ජොහාන්තුමාගේ "සේවයට සූදානම හා සරල දිවි පෙවෙත" පිළිබඳවයි මා ඔබ සමග අදහස් බෙදාගන්නේ.

**සමිඳුන්ගේ මාවත පිළියෙල කරන්න.**
**එතුමන්ට ඇද නැති මාවත් සාදන්න යැයි**
**පාළුකරයේ මොර ගා කියන හඬකි.**
**(මතෙව් 3:3, යෙසායා 40:3)**

දිවැසිවර යෙසායාතුමා වසර ගණනාවකට පෙර එම දිවැස්වැකිය පවසා ඇත්තේ ස්නාවක ජොහාන්තුමාගේ අති විශේෂ මෙහෙය ගැනයි. ජුදයේ පාළුකරයෙහි වෙසෙමින් ස්නාවක ජොහාන්තුමා මේ මෙහෙය වෙනුවෙන් විශේෂයෙන් සූදානම් වූ ආකාරය අපට පෙනෙනවා. එතුමා ගත කළේ ඉතාමත් සරල ජීවිතයක්. ස්නාවක ජොහාන්තුමා ඔටු ලෝම වස්ත්‍රයක් ඇඳ ඉනට සම් පටියක් බැඳ සිටියා. එතුමා ආහාරයට ගත්තේ පළගැටියන් හා වන මී. එතුමාගේ සරල ජීවිතය සේවයට විශාල පහසුවක් වුනා.



සුහද අයියා :-

ගොඩක් ස්තුතියි අමල් මල්ලී. දැන් ස්නාවක ජොහාන්තුමාගේ සේවයට සූදානම හා සරල දිවි පෙවෙත ඇසුරෙන් කිතුනු ජීවිතයට උපකාරකයක් ගෙන ඒමට දෙව්නි නංගිට අවස්ථාව.

දෙව්නි :-

ඕනෑම විශේෂ සේවාවක් කිරීමට පෙර ඊට හොඳ සූදානමක් තිබීම අත්‍යවශ්‍යයි. සෑම මොහොතක දී ම යාච්ඤාවෙන්, දේව වචනය කියවීමෙන්, දෙවියන් වහන්සේ සමග සම්බන්ධ වී සිටීමත් ඉතා සරල දිවි පෙවෙතකට හුරු වීමත් අවශ්‍ය යි. ආහාර පාන ගැනීම , ඇඳුම් පැලඳුම්, ජීවන රටාව සරල වන තරමට දෙවියන් වහන්සේ වෙනුවෙන් ඉටු කිරීමට ඇති සේවය අර්ථවත් වෙනවා.

සුහද අයියා:- දැන් අප හා එක්වන්නේ දිල්හානි නංගි.

දිල්හානි :- ස්නාවක ජොහන්තුමා ඉටු කළ මනස්ථාපනයේ දූත මෙහෙය ගැනයි ඔබ සමග මා අදහස් බෙදා ගන්නේ. ස්නාවක ජොහාන්තුමා ජුදයේ පාළුකරය අවට සැරිසරමින් "පසු තැවී සිත් හරවා ගන්න. මන්ද ස්වර්ග රාජ්‍යය ළඟ ය". (මතෙව්3:2) කියා දේශනා කළා. ජෙරුසලමේ මුළු ජුදයේ ජොර්දාන් අවට

මුළු පෙදෙස් සෙනග මනස්ථාපනයේ බෞතිස්ම ස්නාපනය ලබන්නට ස්නාවක ජොහාන්තුමා වෙත ආවා. ඒ වගේ ම පරිසිවරුන්ගෙන් ද සද්දුසිවරුන්ගෙන් ද බොහෝ දෙනෙක් මනස්ථාපනයේ බෞතිස්මය ලබන පිණිස ඔහු වෙත පැමිණි විට "පොළොං වංශය"කියා ස්නාවක ජොහාන්තුමා ඔවුන්ට ඉතා දැඩි ලෙස ආමන්ත්‍රණය කළා. ඔවුන් ආබ්‍රහම්ගෙන් පැවත එන පුත්‍රයෝ නිසා අහංකාර ලෙස නො සිතන ලෙසට ස්නාවක ජොහාන්තුමා ඔවුන්ට අවවාද කළා. ඒ නිසා සිය පව් ගැන අවංකව පසුතැවිලි වී නැවත පව් නොකරන බවට අධිෂ්ඨානයෙන් මනස්ථාපන බෞතිස්මයේ වටිනාකම අවබෝධ කරගත් හැම ජොහාන්තුමාගෙන් බෞතිස්මය ලැබුවා.

සුභද අයියාඃ- ප්‍රශ්නයක් අසන්නට අවස්ථාව ලබා ගන්නේ කව්ද ?

කවිත් ඃ- පරිසිවරු සද්දුසිවරු වැනි ආගමික නායකයන් පවා ස්නාවක ජොහාන්තුමා වෙත එන්නට විශේෂ හේතුවක් තිබුණා ද ?

සුභද අයියාඃ- ඔවුන් අනෙක් අය එනවා දැක ආවා මිස අවංකව ම බෞතිස්මය ලබන්නට කැමැත්තක් තිබුණ බව සිතන්නට අමාරුයි.ස්නාවක ජොහාන්තුමාත් එය තේරුම් ගත්තා.එම නිසා ඔවුන්ට පොළොං වංශය කියා ද හැඳින්වූවා. දෙව්නි නංගිට යි දැන් අවස්ථාව.

දෙව්නි ඃ- කිතුනු ජීවිතයට ස්නාවක ජොහාන්තුමාගේ මනස්ථාපනයේ දූත මෙහෙය තුළින් අපට වැදගත් පාඩම් රැසක් ඉගෙන ගන්න පුළුවන්. සිතින්, වචනයෙන්, ක්‍රියාවෙන් දිනපතා අප කරන පව් පිළිබඳව අවංකව හදවතින් පසුතැවී දෙවියන් වහන්සේගේ කමාව ලබා අලුත් ජීවිත ගත කිරීම ට යොමු වීම අත්‍යවශ්‍ය යි. අපගේ ජීවිත දෙවියන් වහන්සේ ඉදිරියේ ඵල දරන ගසක් බවට පත් වන්නට ඕනේ. අවසාන විනිශ්චයට අප මුහුණ දෙන විට අප සැබෑ ලෙස ම අටුවල රැස්කෙරෙන ධාන්‍ය මෙන් විය යුතු යි. එසේ නොවන විට අප බොල් බව ට පත් වී විනාශය ළඟා කර ගන්නවා.මෙසේ ජොහාන්තුමාගේ මෙහෙය තුළින් ජේසුස් වහන්සේ කෙරෙහි ලැදි ජීවිතාදර්ශය අපි ද ලබමු.

සුභද අයියාඃ- මී ළඟ ඉදිරිපත් කිරීම පසන් මල්ලිගෙන්

පසන් ඃ- ස්නාවක ජොහාන්තුමාගේ දූත මෙහෙය තුළින් ඔප් නැංවුණු නිහතමානී බව පිළබඳව අපි මදක් විමසා බලමු. එතුමා ඉතා නිහතමානි පුද්ගලයකු බව හොඳින් කැපී පෙනෙනවා."මම

නම් ඔබ වතුරෙන් බෞතිස්ම කරමි. එහෙත් මට පසු ව එන තැනැත්තේ මට වඩා බල සම්පන්න ය. මම උන් වහන්සේගේ පාවහන්වල පටිය මුදන්නට වත් නො වටිමි යි" කියා පැවසීමෙන් එතුමා තුළ තිබූ නිහතමානීත්වය විදහා දැක්වෙනවා. තව ද තමා සෙනගට ලබා දෙන මනස්ථාපනයේ වතුර බෞතිස්මයට වඩා උතුම් බෞතිස්මයක් ජේසුස් වහන්සේ පැමිණි කල ලබා දෙන බව එතුමා පවසනවා. එනම් ශුද්ධාත්මයෙන් ද ගින්නෙන් ද ලබා දෙන බෞතිස්මය යි.

මේ කරුණු මගින් ස්නාවක ජොහාන්තුමා තමන්ගේ සේවයේ අගයට වඩා ජේසුස් වහන්සේගේ සේවයේ අගය කියා පෑමෙන් නිහතමානීත්වය ආදර්ශවත් ව දක්වනවා.

ගයනි :- ස්නාවක ජොහාන්තුමා මතුවට සිදුවන කරුණු ජනතාවට කීවේ ඔහු දිවැසිවරයකු නිසා ද?

සුහද අයියා:- ඔව් නංගි ඔහු දිවැසිවරයකු සේ හඳුන්වනවා. ඒ වගේ ම ඔහු දිවැසිවරයකුටත් වඩා ශ්‍රේෂ්ඨ බව ජේසුස් වහන්සේ වරක් ප්‍රකාශ කළා.

සුහද අයියා:- දැන් මම දෙව්නි නංගිට ආරාධනා කරනවා. කිතුනු ජීවිතයට ස්නාවක ජොහාන්තුමාගේ නිහතමානි ජීවිතයෙන් ලැබෙන ආදර්ශය පිළිබඳ ව කථා කිරීමට.

දෙව්නි :- ස්නාවක ජොහාන්තුමා සෑම විට ම ජේසුස් වහන්සේගේ පෙර මග දූතයා සහ මග සාදන්නා ලෙස උන්වහන්සේට ගෞරවය දෙමින් ඉතා නිහතමානි ලෙස සේවය කරමින් දිවි ගෙව්වා. ඒ අයුරින් අපත් දෙවියන් වහන්සේට සේවය කරමු.

සුහද අයියා:- වෙනදා වාගේ ම අදත් වට මේසයේ සැඳැවෙන් අපි බොහෝ දෑ ඉගෙන ගත්තා. යළිත් අපි මේ වගේම හමු වෙමු.

ආදර දෙවි පියාණෙනි, ස්නාවක ජොහාන්තුමාගේ පෙරමග දූත සේවය ගැන ඔබවහන්සේට තුති පුදමු. එතුමාගේ ආදර්ශයෙන් සරල නිහතමානි ජීවිත ගත කරන්නටත් සැම විට ම පව් ගැන මනස්ථාපන වෙමින් දැහැමි මග ගමන් කරන්නටත් උපකාර කළ මැනව. ආමෙන්

## ක්‍රියාකාරකම

1. ස්නාවක ජොහාන්තුමාගේ ජීවිතය තුළ කැපී පෙනුණ ගුණාංග පෙළ ගස්වන්න.
2. ස්නාවක ජොහාන්තුමාගේ මනස්ථාපනයේ දූත මෙහෙය මගින් අපට ලබා දෙන මග පෙන්වීම පැහැදිලි කරන්න.

# ၆. පරීක්ෂාවෙන් ජය

**ජේසුස් වහන්සේගේ මෙලොව දිවිය පුරා උන් වහන්සේට මුහුණදීමට සිදු වූ පරීක්ෂා ජයගත් අයුරු ආදර්ශයට ගෙන ජීවිත පරීක්ෂාවලින් ජය ගැනීම සඳහා යොමු කිරීම මෙම පාඩම මගින් අපේක්ෂිත ය.**

**ශු. ලූක් 4: 13, ශු. මාක් 8: 13, ශු. ජොහාන් 6: 14-15, ශු. මාක් 15: 29-32,**

ගුරුතුමිය පන්තියට පැමිණ මාසික ඇගයීමට සූදානම් වන ලෙස ළමුන්ට දැනුම් දුන්නා ය. විදුරට බියක් දැනුණි. ඔහු ඒ සඳහා සූදානම්ව නොසිටියේ ය. ගුරුතුමිය ප්‍රශ්න පත්‍රය ලබා දීමෙන් පසු සියලු දෙනා ම පිළිතුරු ලිවීමෙහි නිරත වූහ. විදුරගේ දෙනෙත් නිරතුරුව ම තම සමීපයෙහි සිටි සුදීපගේ පිළිතුරු පත්‍රය දෙසට යොමු විය. කෙසේ හෝ ලකුණු ලබා ගැනීමේ පරීක්ෂාවට විදුර හසු විය. එය වරදක් බව විදුරට අවබෝධ නො වී ය.

විදුර මෙන් අප සැම දෙන ඕනෑ ම විටෙක විවිධ පරීක්ෂාවන්ට හසුවිය හැකි ය. ඒ තුළින් වැරදි දේ කිරීමට යොමු විය හැකි ය.

ජේසුස් වහන්සේගේ ජීවිතය පුරා විවිධ පරීක්ෂාවන්ට මුහුණ දීමට උන් වහන්සේට සිදු විය. ශුද්ධාත්මයාණන් වහන්සේ ජේසුස් වහන්සේ පාළුකරයට පැමිණ වූ අවස්ථාවේ දී දින 40 ක් මුළුල්ලේ උන් වහන්සේ පාළුකරයේ සිටිමින් නිරාහාරව යාච්ඤාවේ යෙදී සිටි බව ශු. ලූක් සුබ අස්නේ හෙළි කරයි. එම අවස්ථාවේ සාතන් විසින් උන් වහන්සේ පරීක්ෂා කළ බව එහි දැක්වේ.

තව ද උන් වහන්සේගේ මෙහෙවර පුරා එක් එක් අවස්ථාවල දී පරීක්ෂාවන්ට මුහුණ දීමට සිදු විය. එමෙන් ම උන් වහන්සේගේ දුක් ප්‍රාප්තිය හා කුරුසිපත් වීම තුළ ද ජේසුස් වහන්සේට පරීක්ෂාවලට මුහුණ පෑමට සිදු වූ අයුරු ශුද්ධ ලියවිලි තුළින් අපට පැහැදිලි වෙයි.

උන් වහන්සේට පැමිණි පරීක්‍ෂා පහත දැක්වෙන සේ අපට බෙදා දැක්විය හැකි වේ.

## 1. හාස්කම්වලින් උන් වහන්සේගේ බලය පෙන්වන ලෙස බලපෑම් කළ පරීක්‍ෂාවන්

❊ පාළුකරයේ දී දින 40 ක නිරාහාර කාලය අවසානයේ දී උන් වහන්සේට කුසගිනි වූ විට ගල් ගෙඩිය පාන් ගෙඩියක් වන්නට අණ කිරීම තුළින් හාස්කමක් කිරීමේ පරීක්‍ෂාවක් උන් වහන්සේට සාතන් විසින් ගෙන එන ලදි.

**"මිනිසා කෑමෙන් පමණක් ජීවත් නොවන්නේ ය."**

**ද්විතිය නීති සංග්‍රහය 8: 3**

කියා දේව වදන් ඇසුරෙන් පිළිතුරු දෙමින් උන් වහන්සේ සාතන් පරාජය කළ සේක.

❊ වරක් පරිසිවරු පැමිණ උන් වහන්සේ වචනයකින් අල්ලා ගැනීම සඳහා ස්වර්ගයෙන් හාස්කමක් ඉල්ලූ අවස්ථාවේ දී උන් වහන්සේ පිළිතුරු දෙමින්;
"මේ පරම්පරාවට හාස්කමක් නො දෙනු ලැබේ" ශු. මාක් 8: 12 යනුවෙන් පැවසූ සේක.

❊ තව ද ජේසුස් වහන්සේ කුරුසිපත්ව සිටි අවස්ථාවේ දී "ඔබම ගැලවී කුරුසියෙන් බැස එන්න." (ශු. මාක් 15:30) කියමින් මහමග ගිය අය උන් වහන්සේට අපහාස කළහ. එසේම නායක පූජකවරු හා විනයධරයෝ උන් වහන්සේට කවටකම් කරමින්, "අප විසින් දැක අදහන පිණිස ඉශ්රායෙල්හී රජවන ක්‍රිස්තුස් දැන් කුරුසියෙන් බසින්නැ"යි (ශු. මාක් 15: 32) කීහ. උන් වහන්සේ පිළිතුරු නොදී නිශ්චලව සිටි සේක. මේ සෑම අවස්ථාවක දී ම උන් වහන්සේ දේව වදන් මගින්, දැඩි ප්‍රකාශන මගින් හා නිහඬතාව තුළින් එම පරීක්‍ෂා ජය ගත් සේක.

## 2 ජේසුස් වහන්සේට ඇති බලය පෙන්වන ලෙස බලපෑම් කළ පරීක්‍ෂාව

❊ යක්ෂයා විසින් උන් වහන්සේ උස් තැනකට ගෙන ගොස් ලෝකයේ සියලු රට රාජ්‍යයන් උන් වහන්සේට පෙන්වා ඒවා කෙරේ ආධිපත්‍යය ද ඒවායේ යස ඉසුරු ද ලබා දීමට නම් යක්ෂයාට නමස්කාර කරන ලෙස කියන ලදී. (ශු.ලූක් 4:7) එහෙත් උන් වහන්සේ යක්ෂයාට එකඟ වුණේ නැත.



**"නුඹේ දෙවි වන සමිඳාණන් වහන්සේට නමස්කාර කරන්න.**
**උන් වහන්සේට පමණක් සේවය කරන්න."**
**ශු.ලූක් 4:8, ද්විතීය 6: 13**

යනුවෙන් පිළිතුරු දී එම පරීක්ෂාව පරාජය කළ සේක.

❊ පන්දහසකට කෑම දීමේ හාස්කම අත් දුටු ජනයා උන් වහන්සේ අල්ලා බලහත්කාරයෙන් රජකමට පත්කිරීමට සැරසුණු කල එම පරීක්ෂාවෙන් ගැලවීම සඳහා උන් වහන්සේ තනිව ම කන්දකට නැගුණු බව ශුද්ධ ලියවිලි මගින් පැහැදිලි වෙයි. (ශු. ජොහාන් 6:14-15)

බලය විදහා පෑමට අවකාශ තිබියදීත් උන්වහන්සේ පරීක්ෂා ජය ගනු ලැබුවේ

(i) දේව වචනයෙන් ඒවාට පිළිතුරු දෙමින් ය.
(ii) හුදකලා වී කන්දකට ගොස් යාච්ඤා කිරීමෙන් ය.

උන් වහන්සේ කිසිසේත් නපුරේ බලයට අවනත නො වූ බව මින් හොඳින් පැහැදිලි වෙයි.

බලය විදහා පෑමට ඔබට ඇතිවන පරීක්ෂා අවස්ථා ගැන සිතන්න.

## 3. දෙවියන් වහන්සේ පරීක්ෂා කිරීමට බලපෑම් කළ අවස්ථාව

❊ යක්ෂයා විසින් ජේසුස් වහන්සේ ජෙරුසලමේ දේවමාලිගාවේ කොත මුදුනට ගෙන ගොස් එතැනින් පහළට පැනීමේ පරීක්ෂාවට උන් වහන්සේ හසුකර ගැනීමට උත්සාහ කරන ලදී. එම අවස්ථාවේ දී යක්ෂයා උපක්‍රමශීලී ව භාවිත කළේ පහත සඳහන් බයිබල් පාඨය යි.

**"ඔබ දෙවියන් වහන්සේගේ පුත්‍රයා නම්**
**මෙතැනින් පහතට පනින්න.**
**එසේ කියන්නේ,**
**ඔබට රැකවරණ සලසනු වස්**
**උන් වහන්සේ සිය දූතයන් හට අණ දෙනු ඇතැ'යි ද**
**යම් ලෙසකින් ඔබේ පය ගලක නොවදින පිණිස**
**ඔවුන් සිය දෝතින් ඔබ උසුලනු ඇතැ'යි ද**
**කියා ලියා ඇති බැවිනැ"යි උන් වහන්සේට කී ය.**
**ලූක් 4: 9-11, ගීතාවලිය 91: 11**

එවිට ජේසුස් වහන්සේ;

**"නුඹේ දෙවි වන සමිඳාණන් වහන්සේ පරීක්ෂා නොකරන්න"**
**ලූක් 4: 12 ද්විතීය නීති සංග්‍රහය 6: 16**

කියමින් යක්ෂයාගේ අරමුණ පරාජය කළ සේක.

4. **දේව කැමැත්තට එරෙහි වීමට බලපෑමක් ඇතිවන පරීක්ෂාව**

✽ ජේසුස් වහන්සේ සිය දුක් ප්‍රාප්තියට මුහුණ දීමට පෙර ගෙත්සෙමන උයනේ දී "පියාණෙනි ඔබ කැමති සේක් නම් මේ කුසලාන මාගෙන් පහ කළ මැනව" කියා යාච්ඤා කිරීමට පෙලඹුණු අයුරු පෙනේ. මෙහි දී ජේසුස්වහන්සේ තමන්ට දේව කැමැත්ත අනුව තෝරාගැනීමට තිබෙන දුෂ්කර ම මාර්ගය වන කුරුසියේ පූජා වීමේ මාර්ගය සම්බන්ධයෙන් සිත තුළ යක්ෂයා සමග ගැඹුරු සටනක නියැලුණු බව පැහැදිලි ය.

"එහෙත් ජේසුස් වහන්සේ යක්ෂයාට ඉඩ නොදුන් බව උන් වහන්සේ දෙවි පියාණන් වහන්සේට කළ යාච්ඤාවෙන් පැහැදිලි වෙයි. "එහෙත් මාගේ කැමැත්ත නොව, ඔබගේ කැමත්ත වේවා" (ශු. ලූක් 22: 42) පැවසූ සේක. ඒ අවස්ථාවේ දී දෙවියන් වහන්සේගේ ස්වර්ගයෙන් දූතයෙකු එවා උන් වහන්සේ ශක්තිමත් කළ බව ශුභාරංචිය පෙන්වා දෙයි.

අපගේ ජීවිත ගමනේ දී මෙවැනි විවිධ පරීක්ෂාවන්ට මුහුණ දීමට සිදු වෙයි. එසේම අන් අය ද යක්ෂයාගේ පරීක්ෂාවන්ට හසුවෙයි. ජේසුස් වහන්සේ තම ශ්‍රාවකයන්ගෙන් ඉල්ලුවාක් මෙන් අප ද අපගේ මිතුරන් ද පරීක්ෂාවට නොවැටෙන ලෙසට ඔවුන් ගැන යාච්ඤා කළ යුතු වෙයි. එමෙන් ම අපට ඇති වන පරීක්ෂාවල දී අපගේ යහපත් මිතුරන්ගේ සහාය අපට ද අවශ්‍ය වෙයි.

## පරීක්ෂා හා ජීවිත ගැටලු ජය ගන්නේ කෙසේද ?

- ❊ අපට පරීක්ෂා පැමිණෙන විට ජේසුස් වහන්සේගේ ආදර්ශය දේව වචනයෙන් ලබා ගැනීම
- ❊ එක එල්ලේ ම පරීක්ෂා ප්‍රතික්ෂේප කිරීමට පසුබට නො වීම
- ❊ ජීවිත ගැටලු එන විට පරීක්ෂාවන්ට හසු නොවී ඒවාට සාර්ථක ලෙස මුහුණ දීම
- ❊ පරීක්ෂාවලින් වැලකීම සඳහා දිනපතා අප ශුද්ධාත්ම බලයෙන් පෝෂණය වී දිරිය ලැබීම
- ❊ යාච්ඤාවෙන් හා නිරාහාරව සිටීමෙන් අපට පැමිණෙන පරීක්ෂාවලින් ජය ගැනීමට ක්‍රියා කිරීම
- ❊ දේව වචනය ගැන හොඳ දැනුමක් ලබමින්, එය පදනම්ව පරීක්ෂාවලට මුහුණ දීම
- ❊ දෙවියන් වහන්සේ පමණක් ම විශ්වාස කිරීම
- ❊ පරීක්ෂාවන්ට මුහුණ දෙන අතරතුරේ පාපයට නො වැටී සිටීම
- ❊ අපගේ අලසකම පරීක්ෂාවලට ලක් වීමට පහසු මාර්ගයක් හෙයින් හැමවිට ම ධෛර්යය සම්පන්න ව සිටීම
- ❊ අපගේ ආශාවන් හා දුර්වලකම් තේරුම් ගැනීමෙන් යක්ෂයා පරාජය කිරීම.

ජේසුස් වහන්සේ පරීක්ෂාවන්ට මුහුණ දුන් ආකාරය තේරුම් ගනිමින් පරීක්ෂාවල දී එය ආදර්ශය බවට පත් කර ගනිමු.

### ක්‍රියාකාරකම

(1) ලෞකික සම්පත් හිමිකර ගැනීමට අදාළව, ජේසුස් වහන්සේ වෙත පැමිණි පරීක්ෂාව නම්කර උන්වහන්සේ ඒවා ජයගත් ආකාරය පෙන්වා දෙන්න.

(2) එදිනෙදා ඔබට ඇතිවන පරීක්ෂාවන්ට මුහුණ දීම සඳහා ශුද්ධාත්ම දිරිය හා සවිය අයදිමින් යාච්ඤාවක් ලියන්න.

# 7. කන්ද උඩ දේශනයෙන් ජීවිතයට දිරියක්

**ජේසුස් වහන්සේ වදාළ කන්ද උඩ දේශනයේ ඉගැන්වීම් කීපයක් අධ්‍යයනය කරමින් ඒ හරහා කිතුනු ජීවිතයට ලබාගත හැකි මග පෙන්වීම් විමසා බැලීම මෙම පාඩමින් අපේක්ෂිත ය.**

**ශු. මතෙව් 5: 13-16, 7: 12**

ජේසුස් වහන්සේගේ ඉගැන්වීම්වල තිබූ අර්ථවත් බව නිසා උන් වහන්සේට සවන් දෙන පිණිස, උන් වහන්සේ වටා ජනයා එක්රැස් වූ ආකාරය ශුද්ධ වූ ශුභාරංචියෙන් අපට දැනගත හැකි ය.

- උන් වහන්සේ ඉගැන්වීම් සඳහා තෝරාගනු ලැබුවේ බොහෝ දෙන සහභාගි විය හැකි නිශ්චල ස්වාභාවික ස්ථාන බව පැහැදිලි වෙයි.

  ඒවා නම්:
  - කඳු මුදුන්
  - මිටියාවත්
  - මුහුදු වෙරළ වැනි විවෘත ස්ථාන මෙන් ම සාමාන්‍ය ජනතාව වෙසෙන ඉඩකඩ ඇති නිවාස ද වේ.

- උන් වහන්සේගේ ඉගැන්වීම් ඉතා සරල හා ජීවිතයට සමීප නිසා ඒවාට සවන් දීමට උන් වහන්සේ වෙත බහුලව පැමිණියේ සාමාන්‍ය ජනතාව යි. ඉතා දුගී, සමාජය විසින් ප්‍රතික්ෂේප කරන ලද එමෙන් ම දේව මාලිගයට හෝ ධර්මශාලා වෙත යෑමට අවසර නොලත් අයකැමියන්, කාන්තාවන්, දරුවන්, රෝගීන්, දිළිඳුන් වැනි ජන කොටස් නිරතුරුව ම උන්වහන්සේ වටා එක්රොක් වූහ. උන් වහන්සේගේ ආදරය හා දයානුකම්පාව නො මඳව ඔවුනට හිමි විය.

- ජේසුස් වහන්සේගේ දේශනය හා ඉගැන්වීම් සඳහා බොහෝ විට යොදා ගනු ලැබුවේ එදිනෙදා ජුදෙව් සමාජයේ පැවති දේ ය. බැටළුවන්, අබ, ලුණු, දැල්වූ පහන්, මිදිවතු, අත්තික්කා ගස් වැනි ඉතා සරල, සාමාන්‍ය, ස්වාභාවික නිදසුන්වලින් උන් වහන්සේගේ ඉගැන්වීම් සැම දෙනාට සමීප වූ බව වැඩිදුරටත් පැහැදිලි ය.

## ජේසුස් වහන්සේගේ කන්ද උඩ දේශනය පිළබඳව ඔබ අසා තිබේ ද?

**(ශු. මතෙව් 5-7 පරිච්ඡේද)**

ජේසුස් වහන්සේගේ ශ්‍රාවකයන් මෙන් ම බොහෝ ජනකායක් මෙම දේශනය ඇසීමට උන් වහන්සේ වෙත කඳු මුදුනට ආහ. කිතුනු ජීවිතය ගෙනයාමේ දී ඉතා වැදගත් වන මග පෙන්වීම් සහ ඉගැන්වීම් කන්ද උඩ දේශනය තුළින් ජනතාව වෙත ලැබිණි.

**යහපත් කිතුනු ජීවිතයක් ගතකිරීම සහා කන්ද උඩ දේශනයෙන් මග පෙන්වීම් කීපයක් දැන් අපි ලබා ගනිමු.**

(1) රන් අණ තුළින් කිතුනු ප්‍රේමය සවිමත් කර ගනිමු.

**"අනුන් ඔබට යමක් කරනවාට ඔබ කැමති ද,**
**ඔබත් ඒ දේ ම ඔවුන්ටත් කරන්න.**
**ව්‍යවස්ථාවලියේ හා දිවැසාවලියේ හරය එය වේ."**
**ශු. මතෙව් 7: 12**

අන් අය අපට සලකනවාට අප කැමති ද ඒ ආකාරයෙන් ම අපත් ඔවුනට සැලකිය යුතු බව ජේසුස් වහන්සේ අවධාරණය කළ සේක. රන් අණ යනුවෙන් හඳුන්වන්නේ මෙයයි. අන් අය ඔබට කෙසේ සලකනවාට ඔබ කැමති ද ?

- ගෞරවයෙන්,
- සවන්දීමෙන්,
- ආදරයෙන්,
- බෙදාගැනීමෙන්,
- එක සමානව සැලකීමෙන්,
- අවංකව,
- පොරොන්දු ඉටු කිරීමෙන්,
- අවශ්‍යතාවේ දී මිතුරකු වීමෙන්.



## (2) පොළොවේ ලුණු මෙන් වැය වීමේ සේවයක යෙදෙමු.

අපේ එදිනෙදා ජීවිතයට ලුණු අත්‍යවශ්‍ය දෙයකි. එය සෑම නිවසක ම භාවිත වන්නකි.

- ❊ ආහාර රසවත් කරයි.
- ❊ රසය වෙනස් කරයි.
- ❊ විෂබීජ නාශකයක් ලෙස ක්‍රියා කරයි.
- ❊ ආහාර කල්තබා ගැනීමට උපකාර වේ.
- ❊ ආහාරයට එක් කළ පසු දියවී යයි.

**"ඔබ පොළොවේ ලුණු ය"**
**ශු. මතෙව් 5: 13**

යි කීමෙන් ජේසුස් වහන්සේ අදහස් කළේ කුමක් ද ?

**ලුණු ආහාර රසවත් කරයි.** →

ඔබ පොළොවේ ලුණු නම්;

අන් අයගේ ජීවිත රසවත් කිරීමට අප ක්‍රියා කළ යුතු වේ. දුකින්, වේදනාවෙන්, පීඩාවෙන්, පාපයේ ඇලී ගැලී ජීවත් වන අයට සහනයක් හා ප්‍රබෝධයක් ලබා දීමට ක්‍රියා කිරීම කිතුනුවන් වන අප සැමගේ වගකීම යි.

**ලුණු, රසය වෙනස් කරයි** →

ඔබ පොළොවේ ලුණු නම්;

එහි ඇති ලුණු ගතිය වෙනත් දෙයකින් දිය නො හැකි ය. ඒ නිසා ලුණුවල ඇති රසය එයටම ආවේණික රසයකි. පාවිච්චි කරන විට ඒ ලුණු, රස වෙනස් කිරීමට සමත් වෙයි. එමෙන් අප ද අපගේ ජීවිතවලට දෙවියන් වහන්සේ ලබා දී ඇති සුවිශේෂ යහපත් ලක්ෂණවලින් අන් අයගේ ජීවිතවල ඇති වැරදි ජීවන රටා වෙනස් කිරීමට අපට හැකියාව තිබිය යුතුය.

## ලුණු, විෂබීජ නාශකයක් ලෙස ක්‍රියා කරයි.

ඔබ පොළොවට ලුණු නම්;

ඔබ දිවි ගෙවන සමාජයේ පවතින අයහපත් හා වැරදි දේට එරෙහිව ක්‍රියා කළ යුතු ය. එලෙස ම අන් අයගේ ජීවිතවල පවතින වැරදි, අයහපත් ක්‍රියා හා පාප නසා දැමීමට ලුණු මෙන් ක්‍රියා කළ යුතු ය.

## ලුණු ආහාර කල්තබා ගැනීමට උපකාර වේ.

ඔබ පොළොවේ ලුණු නම්;

ලුණු ගතිය සමාජයේ යහ පැවැත්මට භාවිත කළ යුතු වෙයි. අප වටා පවතින කුරිරු සහ නපුරු දේ මෙන් ම අප වරදට ඇද දමන කාරණාවලින් අප විනාශ වීම වළක්වා අපගේ ලුණු ගතිය භාවිතා කරමින් අන් අයගේ ජීවිත සුරක්ෂිත කිරීමට යුහුසුලු විය යුතු වෙයි. සමාජයේ යහපැවැත්ම පවත්වා ගැනීමට ක්‍රියා කළ යුතු ය.

## ලුණු යමකට එක් කළ විට දියවේ.

ඔබ පොළොවේ ලුණු නම්;

ලුණු දියවීමෙන්, එහි ප්‍රයෝජනය වැඩි වෙයි. ජේසුස් වහන්සේ ද අපෙන් අපේක්ෂා කරන්නේ එය ම ය. අප කුඩා වුවත් දෙවියන් වහන්සේගේ රාජ්‍යය පොළොවේ ක්‍රියාත්මක කරන්නට අපෙන් වන ප්‍රයෝජනය ඉමහත් ය. ඒ සඳහා අනිවාර්යෙන් ම අපි ලුණු මෙන් වැය විය යුතු ය.

**"ලුණුවල ලුණු ගතිය නැති වුවහොත්**
**එයට ලුණු රස කවන්නේ කුමකින් ද?"**
**මතෙව් 5: 13**

දෙවියන් වහන්සේ අපට දී ඇති ලුණු ගතිය එනම් වටිනාකම් යම් හෙයකින් නැති වුවහොත් එය වෙනස් දෙයකින් පිරවිය නො හැක. ඒ නිසා ජේසුස් වහන්සේ අපට අවධාරණය කරන්නේ අප පොළොවේ ලුණු මෙන් වේ නම් දේව රාජ්‍යයේ වටිනාකම්, පවත්වා ගෙන යා යුතු බව යි.

## (3) ලෝකයේ ආලෝකය වෙමින් ජීවිත අර්ථවත් කරමු.

රාත්‍රිය අන්ධකාරය ය. රාත්‍රිය හමාර වන විට උදා වන හිරු අන්ධකාරය පහකරයි. මුළු පරිසරය ම ආලෝකවත් කරයි.

**ඔබ ලෝකයේ ආලෝකය ය.**
**ශු. මතෙව් 5: 14**

ජේසුස් වහන්සේ අප හඳුන්වන්නේ ලෝකයේ ආලෝකය ලෙස ය. ආලෝකයේ වටිනාකම හා වැදගත්කම අපේ ජීවිතවල අපි එදිනෙදා අත්දකිමු. ආලෝකයක් නොමැතිව අපට ජීවත් වීම අසීරු වෙයි. අන්ධාකරය පහකිරීමට කුඩා ආලෝකයක් වුවත් ප්‍රයෝජනවත් වන ලෙස ම අප ද ආලෝකයක් වුවහොත් අන්ධකාරය පහ කළ හැකි ය. ජේසුස් වහන්සේගේ ආලෝකය අප තුළින් විහිදීම උන් වහන්සේගේ කැමැත්ත වේ.

කඳු මුදුනක පිහිටා ඇති නගරයක ආලෝකය බොහෝ ඈතට විහිදෙයි. එමෙන් ම පහනක් දල්වා පහන් රුකක් මත තබන විට ඒ ආලෝකය අන්ධකාරය පහකොට විශාල පෙදෙසකට විහිදී යයි. එලෙස අපගේ ජීවිත වලින් ජේසුස් වහන්සේගේ ආලෝකය දිස්වන විට බොහෝ අය ඒ ආලෝකයෙන් ජීවිත ආලෝකවත් කර ගනිති.

එසේ වැයවීමෙන් හා කැපවීමෙන් යුතුව සේවය කිරීමෙන්, ලෝකයට ලුණු හා ආලෝකයක් මෙන් වැය වෙමින් අප ජීවත් වන සමාජයට සේවය කරමු.

**ක්‍රියාකාරකම**

1. රන් අණ යෙදූ පොත් සලකුණක් සාදා එය වර්ණවත් ලෙස අලංකාර කරන්න.

2. ඔබේ පන්ති කාමරය තුළ ඔබට ලුණු මෙන් විය හැකි අවස්ථා හා ආලෝකය ලෙස ක්‍රියා කළ හැකි අවස්ථා පෙළ ගස්වන්න.

# 8. දේව කැමැත්ත ඉටු කරමු

**ජේසුස් වහන්සේගේ දුක් ප්‍රාප්තියට පෙර සිදු වූ විශේෂ සිදුවීම් කීපයක් හා එම සිදුවීම් ඇසුරෙන් කිතුනුවන්ට ලද හැකි අත්දැකීම් පිළිබඳ ව සොයා බැලීම මෙම පාඩමෙන් අපේක්ෂිත ය.**

**ශු. මතෙව් 26: 26-30, ශු. ජොහාන් 13: 1-20, ශු. මතෙව් 26: 36-46**

ජේසුස් වහන්සේ ලොවේ පව් උදෙසා කුරුසියක තමන්ගේ ජීවිතය පූජා කිරීමට පෙර ඊට ආසන්නව සිදු වූ විශේෂ සිදුවීම් කිහිපයක් අතුරින් පහත සිද්ධීන් 3 ක් අපට ශුභාරංචිවලින් පැහැදිලි වෙයි.

* ශුද්ධ සහභාගිකම.
* ශ්‍රාවකයන්ගේ පාද සේදීම.
* ගෙත්සමෙනෙහි යාච්ඤාව.

මෙම සංසිද්ධීන් තුනේ දී ම ශ්‍රාවකයන් හා ජේසුස් වහන්සේගේ සම්බන්ධතාව අපට මනාව පෙනී යයි.

දැන් අප එම සිදුවීම් දෙස අපගේ කල්පනාව යොමු කරමින් අපගේ ජීවිතවලට අදාළ කර ගත හැකි ආදර්ශ හා ආත්මික මග පෙන්වීම් විමසා බලමු.

## 1. ශුද්ධ සහභාගිකම



# ජේසුස් වහන්සේ ශ්‍රාවකයන් සමග අන්තිම රාත්‍රි භෝජනය වැළඳීම



(I) රොටි රැගෙන
(ii) ආශීර්වාදය පැවසීම
(iii) කඩා ශ්‍රාවකයන්ට දී
(iv) පැවසූ වචන -
**"රැගෙන වළඳන්න. මේ මාගේ ශරීරයයි.**
(v) බෙදා දීම



(I) කුසලාන ගැනීම
(ii) තුති පිදීම
(iii) පැවසූ වචන -

**"ඔබ සියල්ලෝ ම මෙයින් පානය කරන්න.**
**මෙය පව් කමාව පිණිස බොහෝ දෙනකු උදෙසා වගුරුවන**
**මාගේ ගිවිසුම් රුධිරය වේ.**
**මතෙව් 26: 26-28**

(iv) ශ්‍රාවකයන්ට බෙදාදීම

රොටි යනුවෙන් අදහස් කළේ ජේසුස් වහන්සේගේ ශරීරය යි. එම රොටිය කැඩීම යනු ජේසුස් වහන්සේගේ ශරීරය කුරුසියේ දී බිඳුණු ශරීරයක් බවට පත් වීම යි.

මිදි යුෂ යනුවෙන් අදහස් කළේ, කුරුසියේ දී ජේසුස් වහන්සේගේ ශරීරයෙන් ගැලූ රුධිරය යි. මෙම ක්‍රියාව උන් වහන්සේ මිනිසාගේ පාපයන් උදෙසා කළ පූජාව වෙයි.

මෙම නව ගිවිසුමට අප පංගුකරුවන් වී අප එම ක්‍රියාවට ඇතුළු වන විට අප උන් වහන්සේගේ ශරීරයේ හා රුධිරයේ කොටස් කරුවන් බවට පත් වෙයි. එහෙයින් උන් වහන්සේගේ ශරීරය හා රුධිරය වන රොටි හා මිදි යුෂ පිළිගැනීමට පෙර;

- උන් වහන්සේ අපගේ පාප උදෙසා කුරුසියේ දී පූජා වූ බව විශ්වාස කරමින්,
- පාප ගැන නිසි ලෙස පසුතැවෙමින්.
- අපගේ ජීවිත ගැන යථාවබෝධයකින් මෙම සත්කර්මයට සහභාගි වෙමු.

මෙම සහභාගිකත්වයට ඇතුළු වීමෙන්,

ක්‍රිස්තුස් වහන්සේ තුළ ස්ථිර ව දිවි ගෙවිය හැකි ය.

නිරතුරුව උන් වහන්සේ හා එක්විය හැකි ය.

සමීප ලෙස උන් වහන්සේ අත්දැකිය හැකි ය.

## 2. ශ්‍රාවකයන්ගේ පාද සේදීම.

ජේසුස් වහන්සේ තම ශ්‍රාවකයන් සමග වැලඳූ අවසාන භෝජනයේ දී සිය උතුරු සළුව ගලවා පසෙක දමා, තුවායක් ඉණ වටේ දවටා ගත් සේක. ඉන්පසු දිය බඳුනක් ගෙන වත්කරලමින්, ශ්‍රාවකයන්ගේ පාද සේදීමටත්, ඉණ බැඳි තුවායෙන් ඒවා පිස දැමීමටත් පටන් ගත් සේක.




**සීමොන් පේදුරු:** ස්වාමිනි, ඔබ වහන්සේ මාගේ පාද සෝදන සේක් ද?

**ජේසුස් වහන්සේ:** මා කරන්නේ කුමක්දැයි ඔබ දැන් නො දන්නෙහි ය. එහෙත් පසුව ඔබට වැටහෙනු ඇත.

**සීමොන් පේදුරු:** “මා දිවි ඇතිතෙක් කවදාවත් මාගේ පාද සෝදන්ට නම් ඔබ වහන්සේට ඉඩ නො දෙමි.”

**ජේසුස් වහන්සේ:** “මා ඔබ නොසේදුවොත් මා සමග සම්බන්ධකමක් ඔබට නැත.

**සීමොන් පේදුරු:** “ස්වාමිනි මාගේ පාද පමණක් නොව අත් ද හිස ද සේදුව මැනව.”

**ජේසුස් වහන්සේ:** “ස්නානය කළ තැනැත්තේ මුළුමනින් ම පවිත්‍ර ය. එහෙත් හැම කෙනෙක් ම එසේ නොවෙති. හැම කෙනෙක් ම පවිත්‍ර නො වෙති.”

පාද සෝදා අවසන් වූ ජේසුස් වහන්සේ සිය උතුරු සළුව යළි හැඳගත් පසු ශ්‍රාවකයන් අමතා මෙසේ කී සේක.

**"ඔබේ ස්වාමින් ද ගුරු දේවයන් ද වන මම**
**ඔබේ පාද සේදුවෙම් නම්,**
**ඔබත් එකිනෙකාගේ පාද සේදිය යුතු ය.**
**මා ඔබට කළාක් මෙන්**
**ඔබත් කළ යුතු බවට ආදර්ශයක් මම දුනිමි.**
**ජොහාන් 13: 15**

## මෙම ආදර්ශයෙන් ජේසුස් වහන්සේ අපට පෙන්වූයේ;

- නිහතමානීව සේවය කිරීමේ අගය
- දෙවියන් වහන්සේ උස්පහත්කම් නොබලන බව
- අර්ථවත් මෙහෙවරක් උදෙසා ස්වාමියා දාසයෙකු මෙන් ක්‍රියා කළයුතු බව
- තමන් අනෙක් තැනැත්තාට වඩා උසස් යයි සිතා උඩඟු නොවිය යුතු බව.

## 3. ගෙත්සෙමනේ යාච්ඤාව

උන් වහන්සේ තම ශ්‍රාවකයන් වන පේදුරු, ජාකොබ්, ජොහාන් කැටුව යෑම.

↓

එක් තැනක ඔවුන් රැඳවීම:
උන්වහන්සේගේ සිත ශෝකයෙන් පිරී යෑම.

උන්වහන්සේ පැවසූ වචන
"මැරෙන තරමට මාගේ සිත අතිශයින් ම ශෝකාන්විත ය. ඔබ මෙහි නැවතී මා සමග අවදිව ඉන්න."

↓

ජේසුස් වහන්සේ යාච්ඤා කිරීමට පිටත්ව යෑම

මුනින් වැටී යාච්ඤා කිරීම

යාච්ඤාව -

"පියාණෙනි, හැකි නම් මේ කුසලාන මා කෙරෙන් පහ කළ මැනව. එහෙත් මා කැමති ලෙස නොව, ඔබ කැමති ලෙස වේවා."

ජේසුස් වහන්සේ ශ්‍රාවකයන් වෙත නැවත පැමිණීම

නිදා සිටිනු දැකීම.

ගෝලයන්ට පැවසූ දේ -"මා සමග එක පැයක්වත් අවදි ව ඉන්න බැරි වුණා ද? ඔබ පරීක්ෂාවට නොවැටෙන පිණිස අවදිව සිට යාච්ඤා කරන්න. හිත කැමති ය ගත නම් දුබලය."

ජේසුස් වහන්සේ නැවත යාච්ඤා කරන්නට යෑම

යාච්ඤාව -
"පියාණෙනි, මේ කුසලාන පහ කළ නොහැකි නම්, ඔබගේ කැමැත්ත වේවා."

ජේසුස් වහන්සේ නැවත යාච්ඤා කරන්නට යෑම

යාච්ඤාව- එම වචන කියා යාච්ඤා කිරීම

නැවත ශ්‍රාවකයන් වෙත පැමිණීම

ශ්‍රාවකයන්ට පැවසූ දේ -
"නැගිටින්න අපි යමු, අන්න මා පාවා දෙන්නා අත ළඟ ය."

දුක් ප්‍රාප්තියට මුහුණ දීම තමාට නියමිත බව ජේසුස් වහන්සේ දැන සිටි සේක. උන් වහන්සේගේ සිත ශෝකයෙන් පිරී දුබල වුවද නිරන්තරයෙන් දේව කැමැත්තට භාර වූ සේක.

## එදිනෙදා ජීවිතයේදී අපි,

❋ අපට මුහුණ දෙන්නට තිබෙන අභියෝගවල දී පළමුව යාච්ඤාවෙන් යුතුව පොර බදමු.

❋ නිරතුරුව ම දේව කැමැත්ත කුමක්දැයි සිතා බලා තම කම නසා කීකරුව කටයුතු කරමු.

* අන් අයට ආදර්ශයක් වන ලෙස අපගේ ජීවිතය නිහතමානීව ගොඩනගා ගනිමු.

ජේසුස් වහන්සේ තම ජීවිතයේ දී, නොයෙකුත් අන්දමේ දුක් වේදනාවලට ගොදුරු වෙමින් ඊට මුහුණ දීම සඳහා දෙවි පියාණන් වහන්සේගෙන් ශක්තිය ලැබූ සේක. එසේ ම උන් වහන්සේගේ කුරුසිය පත් වීමේ ක්‍රියාවලියෙන් ශ්‍රාවකයන්ට දේව රාජ්‍යයේ උතුම් ආදර්ශයක් දුන් සේක.

**ක්‍රියාකාරකම**

1. ජේසුස් වහන්සේගේ දුක් ප්‍රාප්තියට පෙර සිදු වූ විශේෂ සිදුවීම් අතුරෙන් ඔබට වඩාත් සමීප වූ සිදුවීම පිළිබඳව කෙටි සටහනක් ලියන්න.
2. දුක් ප්‍රාප්තියට පෙර සිදුවූ සිදුවීම් මගින් ඔබ ලබාගත් ආදර්ශ 5ක් ලියා දක්වන්න.

# 9. කුරුසියේ වදන් තුළින් ආදර්ශයක්

**කුරුසිපත් වූ ජේසුස් වහන්සේ පැවසූ වදන්වලින් කිහිපයක් ග්‍රහණය කර ගැනීමත්, එම වදන් මගින් කිතුනු ජීවිතයට අත්පත් කර ගත හැකි විශේෂ ආදර්ශ සොයාබැලීමත්, මෙම පාඩමින් අපේක්ෂිත ය.**

**ශු. ලූක් 23: 34, ශු. ජොහාන් 19: 26-27, ශු. ජොහාන් 19: 30**



ජේසුස් වහන්සේ කුරුසියේ දී පැවසූ වදන් අතුරින්, තුනක් ගැන අපි විමසා බලමු.

> **"පියාණෙනි ඔවුන්ට කමා වුව මැනව.**
> **ඔවුන් කරන දේ ඔවුහු නොදනිති."**
> **ශු ලූක් 23: 34**

මෙය ජේසුස් වහන්සේ කුරුසියේ දී පැවසූ **පළමුවන වදනයි.** මේ වදන විග්‍රහ කිරීමේ දී අපට පැහැදිලි වන්නේ, ජේසුස් වහන්සේ කුරුසියේ වද වේදනා විඳිමින් ම තමන්ට හරිහැර කළ, පීඩා කළ, අපහාස කළ අය කෙරෙහි ද්වේශයක් ඇති කර නොගත් බවයි. උන්වහන්සේ සේවය කරන විට, ඉගැන්වූ දේ කුරුසියේ දී ජීවිතාදර්ශයෙන් ම පෙන්වූ සේක. එනම් කමාව දීමේ උතුම් ම ආදර්ශයයි. උන් වහන්සේගේ කරුණාභරිත බව මින් මනා ලෙස පිළිබිඹු වෙයි.

ඔවුන්ටප්‍රේමයහාකරුණාවදක්වනලෙසපියාණන්වහන්සේටආයාචනාකරන්නට?

ඒ අයටනිරතුරුවමහදවතින්මසමාවදෙන්නට?

**ජේසුස් වහන්සේගේ මේ මහඟු ගුණාංගය අනුගමනය කිරීමට ඔබ සූදානම් ද?**

* ඔබට වැරදි කරන අයට පූර්ණ කමාව දීමට
* ඔවුන්ට ප්‍රේමය හා කරුණාව  දක්වන ලෙස දෙව් පියාණන් වහන්සේට ආයාචනා කරන්නට
* අප ජීවිත තුළ කමාවීමේ ආත්මය ගොඩනංවා ගැනීමට.

**"ස්ත්‍රිය, මෙන්න ඔබේ පුත්‍රයා"**
**"මෙන්න ඔබේ මෑණියෝ ය"**
**ශු. ජොහාන් 19: 26-27**

මෙය ජේසුස් වහන්සේ කුරුසියේ දී පැවසූ වදනකි.

කුඩා කල පටන් ජෝසෙප්තුමා හා මරියතුමිය සෙවණේ ඇති දැඩි වූ ජේසුස් වහන්සේ ඔවුන්ගේ ආදරය, රැකවරණය ලබමින් ඔවුන්ට කීකරු, යහපත් දරුවකු ලෙස දිවි ගෙවූ බව නිසැක ය. උන් වහන්සේ, කුරුසිය පාමුල වේදනාවෙන් බලා සිටින තම මව වූ මරියතුමිය තමා ප්‍රේම කළ ශ්‍රාවකයාගේ රැකවරණයට භාර කිරීමෙන් මුළු ලොවට ම උතුම් ආදර්ශයක් ලබා දුන් සේක.

මේ තුළින් උන් වහන්සේ දෙමව්පියන් තනි නොකර රැකබලා ගැනීමේ වැදගත්කම ලොවට ම පෙන්වූ සේක.

ඔබේ මවට, පියාට, භාරකරුවන්ට,

* කීකරු වීම
* උපකාරවන්ත වීම
* ප්‍රිය වදනින් කථා කිරීම
* ලෙඩ වූ විට ආදරයෙන් රැකබලා ගැනීම
* ඔවුන් මුහුණ දෙන ප්‍රශ්නවල දී ඔවුන්ට උදව් වීම.

කිතුනු දරුවන් වන ඔබගෙන් දෙවියන් වහන්සේ බලාපොරොත්තු වන සේක.

**"සියල්ල නිම විය"**
**ශු. ජොහාන් 19: 30**

මෙය ද ජේසුස් වහන්සේ කුරුසියේ දී පැවසූ වදනකි.

අපට භාරවුණ වැඩ හොඳින් නිමා කිරීම, සම්පූර්ණ කිරීම හා සාර්ථක ව අවසන් කිරීම වැදගත් ලෙස සැලකිය යුතු ය. ජේසුස් වහන්සේ සිය මෙහෙය සම්පූර්ණයෙන් ම සාර්ථක ලෙසින් කළ බව කුරුසියේ දී කළ හය වන වදනින් පෙන් වූ සේක.

පියාණන් වහන්සේට කීකරු ව උන් වහන්සේගේ කැමැත්ත අනුව ගැලවීමේ කාර්යය සම්පූර්ණ කළ සේක. කෙතරම් අපහසු වුවත් සිය මෙහෙය උන් වහන්සේ පූර්ණත්වය කරා ගෙන ආ සේක. නොකඩවා යාච්ඤා කිරීමෙන් පියාණන් වහන්සේගේ කැමැත්ත ඉටු කිරීමෙන්, පියාණන් වහන්සේගෙන් ධෛර්යය ලැබීමෙන් සියල්ල සාර්ථක ව සම්පූර්ණ කිරීමට උන් වහන්සේ සමත් වූ සේක.

ජේසුස් වහන්සේ කුරුසියේ දී පැවසූ මෙම වදනින් සවිමත් වී

✶ මට භාරවන කාර්යයන් යාච්ඤාවෙන් යුතු ව සාර්ථකව නිම කරමි.

✶ ඒ උදෙසා දේව වදනින් සවිය ලබා එම කාර්ය ඉටු කිරීමට කැප වෙමි.

✶ සියල්ල සම්පූර්ණ කළ පසු මම නිහතමානීව දෙවිඳුන්ට ඒ ගැන පැසසුම් පුදමි.

කිතුනු දරුවන් ලෙස අධ්‍යාපනය සාර්ථක ව නිමා කරන්නට මෙන් ම ජීවිතයේ අපට භාරවන ඕනෑම කාර්යයක් නිවැරදි ව හා සාර්ථක ව නිම කිරීමට ජේසුස් වහන්සේ ජීවිතාදර්ශයෙන් අපට මග පෙන්වා ඇත.

### ක්‍රියාකාරකම

1) ජේසුස් වහන්සේ කුරුසියේ දී පැවසූ වදන් වලින් ඔබ ලද ආදර්ශ 3ක් ලියා දක්වන්න.

2) ඔබට වැරදි කරන අයට සමාව යදිමින් කරන යාච්ඤාවක් රචනා කරන්න.

3) ජේසුස් වහන්සේ කුරුසියේ දී ලබා දුන් ආදර්ශය මගින් 'අපේ මව්පියන් වෙනුවෙන් අපට කළ හැකි දේ' යන මැයින් වාක්‍ය කිහිපයක් ලියන්න.

# 10. සැමට බලාපොරොත්තුවක්

**මරණයෙන් උත්ථාන ව වැඩ සිටි ජේසුස් වහන්සේ මුණ ගැසීමෙන්, තෝමස් තුළ ජීවිත පරිවර්තනයක් ඇති විය. ජීවිතයට නව බලාපොරොත්තුවක් ඇති විය. එය අපගේ ජීවිතයට ද අදාළ කර ගැනීම පිළිබඳව අත්දැකීම් ලබා ගැනීමට මෙම පාඩමෙන් අපේක්ෂිත ය.**

**ශු. ජොහාන් 20: 24-29**

ජේසුස් වහන්සේ මරණයෙන් උත්ථාන වී (පුනරුජ්ජීවනය/නැවත නැගිටීම) දින 40 ක් මුළුල්ලේ ශ්‍රාවකයන්ට සහ විවිධ අයට මුණ ගැසුණු සේක. සමහරු ජුදෙව්වන්ට බියෙන් බලාපොරොත්තු රහිතව විසිර ගියහ. ජේසුස් වහන්සේ තමන්ට මුණ ගැසුණු බව සමහරක් දෙනා ප්‍රකාශ කළ විට බොහෝ දෙනෙක් එය විශ්වාස නො කළහ.

ඒ අය අතුරෙන් බයිබලයේ සඳහන් වන ශ්‍රාවකයකු වන්නේ තෝමස් ය.

**ඔහු නිවුන් දරුවා යැයි නම් ලත් තෝමස් ය.**

අනෙක් ශ්‍රාවකයන් උත්ථාන වුණ ජේසුස් වහන්සේ දුටු බව පැවසූ විට එය කිසිවිටකත් විශ්වාස කරන්නට තෝමස් මැලිවිය. එම මානසික තත්ත්වය තුළ ඔහු පැවසූයේ;

**"උන් වහන්සේගේ අත්වල ඇණ කැළැල් දැක**
**ඇණ ගසා තිබූ තැන්වල මාගේ ඇඟිල්ල තබා**
**උන් වහන්සේගේ ඇලයෙහි**
**මාගේ අත දමා බැලුවොත් මිස**
**නැත්නම් විශ්වාස නොකරමි." යන්නයි.**
**ශු. ජොහාන් 19: 25**

තෝමස්, උත්ථාන වූ ජේසුස් වහන්සේ;

දැකීමෙන් → පමණක් විශ්වාස කරන බව පැවසීම
ස්පර්ශ කිරීමෙන් → පමණක් විශ්වාස කරන බව පැවසීම

මේ සඳහා ඔහුට අවස්ථාව ලැබුණේ ද?






**තෝමස්;**

උත්ථාන වූ ජේසුස් වහන්සේ පෙන්වූ අත් ද ඇලය ද දුටුවේ ය.

උත්ථාන වූ ජේසුස් වහන්සේට සවන් දුන්නේ ය.

උන් වහන්සේ දුන් ශාන්තිය තුළ දිරිමත් විය. සවිය ලැබී ය.

සැකය මගහැර සිය විශ්වාසය තහවුරු කර ගත්තේ ය.

උන් වහන්සේ තුළ සිය බලාපොරොත්තු ස්ථිර කර ගත්තේ ය.

ජේසුස් වහන්සේ දෙවියන් වහන්සේ බව ප්‍රකාශ කළ ප්‍රථම ශ්‍රාවකයා විය. ඒ "මාගේ ස්වාමිනි, මාගේ දෙවියනි" යනුවෙන් ප්‍රකාශ කරමිනි.

ජේසුස් වහන්සේගේ උත්ථානය පිළිබඳ ව විශ්වාස නොකළ තෝමස් ජේසුස් වහන්සේ මුණ ගැසීමෙන් පසුව, උන් වහන්සේ ජීවමානව වැඩ සිටින බව විශ්වාස කළේ ය. එපමණක් ද නොව, ජේසුස් වහන්සේ දෙවියන් වහන්සේ බව ද නොබිය ව ප්‍රකාශ කළේ ය.

**අපගේ ජීවිතයේ;**

සැක, සංකා මතුවන විට,

අභියෝගවලට මුහුණ දෙන විට,

පරාජය වීම් අත් දකින විට,

දුක් වේදනා තුළින් ගමන් කරන විට

ජේසුස් වහන්සේ උත්ථානව සිටින නිසා, උන් වහන්සේ අපගේ ජීවිතයට ශාන්තිය, සාමදානය හා බලාපොරොත්තුව ලබා දෙනු ඇත.

**උත්ථාන වූ ජේසුස් වහන්සේ**

- පිළිගන්න ඔබේ ජීවිතයට.....
- විශ්වාස කරන්න එක ම ස්වාමින් බව.....
- දකින්න සමීප වන්න දේව වදන් මගින්....
- සමග කථා කරන්න ඔබේ යැදුමෙන්....
- පිළිබඳ ශුභාරංචිය අන් අය වෙත ගෙන යමු.....

එවිට ඔබ,

**උන් වහන්සේ නොදුටු නමුත් ඇදහූ බැවින් භාග්‍යවන්තයකු වේ.**
**(ජොහාන් 20: 29)**

මෙසේ පුනරුජ්ජීවනය වූ ජේසුස් වහන්සේ තුළින් අපේ ජීවිත අලුත් කර ගනිමු. ප්‍රීතියෙන් හා ධෛර්යයෙන් යුතුව ක්‍රියා කරමු.

## ක්‍රියාකාරකම

1. ජේසුස් වහන්සේ තෝමස්ට දර්ශනය වූ අවස්ථාව දෙබසක් මගින් ඉදිරිපත් කරන්න.

2. පුනරුජ්ජීවනය වූ (උත්ථාන වූ) ජේසුස් වහන්සේ ලබා දෙන බලාපොරොත්තුව පිළිබඳව ඔබගේ මිතුරකුට විස්තර කරන ආකාරය ලියන්න.

# 11. ශුද්ධාත්මයාණන් තුළින් නවෝදයක්

පෙන්තකොස්ත දින සිදු වූ සිද්ධිය ගැන ප්‍රේරිතයන්ගේ ක්‍රියා පොතේ සඳහන් විස්තරය සවිස්තරාත්මක ව සලකා බලා ඉන් අපගේ ජීවිතයට ලැබෙන ආලෝකය හා ප්‍රබෝදය ගැන අවබෝධයක් ලබා ගැනීම මෙම පාඩමින් අපේක්ෂිත ය.

**ක්‍රියා 2 : 1 - 13**

පෙන්තකොස්ත සිද්ධියේ අත්දැකීම ලැබූවකු තම මිතුරකුට ඒ ගැන ලිපියක් මගින් දැන්වූයේ මෙසේ ය.

*ප්‍රිය මිතුර,*

*ඔබ දැන් ක්‍රිස්තුන් වහන්සේ ඔබගේ ජීවිතයට පිළිගෙන ඇති බව ඇසූ මට විශාල ප්‍රීතියක් දැනුණා. ඔබ වැනි කෙනකු ක්‍රිස්තුන් වහන්සේගේ යහපත් අනුගාමිකයෙක් වීම අසන්නට ලැබීම පවා සතුට ගෙන දෙන්නක්.*

*ඔබ, එදා පෙන්තකොස්ත දින ඇති වූ සිද්ධිය ගැන මගෙන් කිහිප වරක් ම විමසුවේ ඇයිදැයි මට දැන් තේරුම් ගොස් තිබෙනවා. ඒ සිද්ධිය මගේ මුළු ජීවිතය ම සම්පූර්ණයෙන් වෙනස් කරන්නට පිටිවහලක් වුණා.*

*ඒ දවසේ අප සියලු දෙනා ජෙරුසලමේ එකට රැස්වී සිටි වේලාවේ මහා සුළඟක් හමන්නාක් වැනි ශබ්දයක් ඇසී අප සිටි මුළු කාමරය ම සුළඟින් පිරී ගිය බව දැනුණා. එවිට පුදුමාකාර ලෙස ගිනි දලු වැනි දිව් අප සියලු දෙනා මතට පැමිණුනා. අපි සැවො ම අන්‍ය භාෂාවලින් කථා කරන්න පටන් ගත්තා. අප ගලීලයේ ජුදෙව්වන් වුවත් අප කථා කළ භාෂා එතැන සිටි අනෙක් සහෝදර සහෝදරියන්ට ඇසුණේ ඒ අයගේ ම භාෂාවෙන්.*

*ඔවුන් සියලු දෙනාට අප නො දැනුවත් ව දේව බලය පිළිබඳ ව අවබෝධයක් ලැබුණා. ඉන් පසු ව මෙපමණ කාලයක් බියෙන් සැඟවී සිටි ශ්‍රාවක පේදුරුතුමා කිසි දිනක නොකළ කථාවක් නිර්භය ව කළා.*

පුරාණ ගිවිසුමේ ජෝවෙල් දිවැසිවරතුමා කියූ අනාගත වාක්‍යය ඉටුවුණ බවත්, ජේසුස් වහන්සේ මරණින් උත්ථාන කරනු ලැබූ බවත්, උන් වහන්සේ දැන් ජීවමානව සිටින ස්වාමින් වහන්සේ බවත් පේදුරුතුමා තම දේශනාවේ දී සඳහන් කළා.

පුදුමයට කරුණ නම් ඒ දවසේ දී ම තුන්දාහක් පමණ සෙනඟ ස්වාමින් වහන්සේ පිළිගත් බව දැනගන්නට ලැබීම යි. ඉතින් මිතුර, ඔබ තුළත් ශුද්ධාත්මයාණන් වැඩ වසන බව මම විශ්වාස කරමි.

ඔබගේ ජීවිතය ශුද්ධාත්මයාණන්ගෙන් අලුත් වී, වෙනස් වී ජීවිත නවෝදයක් අත්දකින්නට ලැබේවා' යි මම ප්‍රාර්ථනා කරමි, යාච්ඤා කරමි.

මීට,

ක්‍රිස්තුන් වහන්සේ තුළ

ඔබේ හිතවත් මිතුරා

## ශුද්ධාත්මයාණන් වහන්සේගේ ආගමනය

දිනය - ජුදෙව් පාස්කු මංගල්‍යයට දවස් 50 කට පසු ව පෙන්තකොස්ත මංගල්‍ය දින දී ය. මෙදින සාමාන්‍යයෙන් අස්වැන්නේ ප්‍රථම ඵල පූජා කෙරේ. පුරාණයේ සිට පැවත එන කෘෂිකාර්මික මංගල්‍යයකි.

ස්ථානය - ජෙරුසලමේ ගෙයක දී

එහි සිටි අය - අලුතින් ශ්‍රාවකයෙකු ලෙස තෝරාගත් මත්තියස් ඇතුළු ශ්‍රාවකයන් දොළොස් දෙනා ද විවිධ ප්‍රදේශවලින් හා රටවලින් පැමිණි, විවිධ භාෂා කථා කරන බැතිමත් ජුදෙව්වන් හා අමුත්තන්

ශ්‍රාවකයන්ගේ තත්ත්වය - ජුදෙව්වන්ට බියෙන් දොරවල් වසාගෙන සිටි කාලයකි.

# පෙන්තකොස්ත දින ශුද්ධාත්ම දානය



පෙන්තකොස්ත දින ශුද්ධාත්මයාණන් වහන්සේගේ ආගමනය සිදුවුණි. පුරාණ ගිවිසුමේ බොහෝ අවස්ථාවල එක් එක් පුද්ගලයකු මත ශුද්ධාත්මයාණන් වහන්සේ පැමිණිය ද, පෙන්තකොස්ත දින, රැස්ව සිටි සියලු ශ්‍රාවකයන් වෙත ශුද්ධාත්මයාණන් වහන්සේ පහළ වුණු සේක. දැන් අපි, පෙන්තකොස්ත දින වූ සිද්ධිය එකින් එක සලකා බලමු.

## 1. සැඩ සුළඟක් හමන්නාක් වැනි හඬක්

පුරාණ ගිවිසුමේ හා අලුත් ගිවිසුමේ ශුද්ධාත්මයාණන් වහන්සේගේ ක්‍රියාකාරිත්වය සුළඟේ ක්‍රියාකාරිත්වයට උපමා කර තිබේ. සුළඟ හැමීම වැනි හඬ යන්නෙන් ඉතා බලවන්ත ලෙස ශුද්ධාත්මයාණන් වහන්සේගේ පහළ වීම විස්තර කෙරේ.

## 2. ගිනි දලු වැනි දිව්

දෙවියන් වහන්සේ ගේ වැඩ සිටීම සඳහා බයිබලයේ භාවිත වුණු තවත් සංකේතයක් නම් "ගින්න" ය. මෝසෙස් කැඳවනු ලැබුයේ ගින්නෙන් දැවී නො ගිය පඳුරක් ළඟදී ය. මිසරයේ සිට නික්මයාම ගමනේ යෙදුණ හෙබ්‍රෙව් ජනතාවට රාත්‍රි කාලයේ මඟ පෙන්වූයේ "ගිනි ටැඹ"ය. පෙන්තකොස්ත දා "ගිනි වැනි දිව්" යන්නෙන් අදහස් කරන්නේ නිර්භයව සාක්ෂි දැරීම සඳහා අවශ්‍ය බලය දෙවියන් වහන්සේ ලබා දුන් බව පෙන්වීමට ය.

## 3. ගිනි දලු වැනි දිව් රැස්ව සිටි අය මත පිහිටවනු ලැබීම

පෙන්තකොස්ත දින "ගිනි දලු වැනි දිව්" එහි රැස්ව සිටි සියලු ශ්‍රාවකයන් මත පිහිටුවනු ලැබූ බව ක්‍රියා පොත අපට පවසයි. ඉන් අදහස් කරන්නේ, ශුද්ධාත්මයාණන් වහන්සේ වැඩ සිටින හා සාක්ෂි දැරීමේ බලය යි. මෙය ශ්‍රාවකයන් වෙත ලබා දෙන ශුද්ධාත්මයාණන් වහන්සේ ඔවුන් කෙරේ පැමිණ ඔවුන් තුළ වැඩ සිටීම යි

## 4. අන්‍ය භාෂාවලින් කතා කිරීම.

ශ්‍රාවකයන් අන්‍ය භාෂාවලින් කථා කළේ ශුද්ධාත්ම බලය නිසා ය. ඔවුහු ගලීලයේ විසූ සාමාන්‍ය වැසියන් වුවත් බලයෙන් යුක්තව අන්‍ය භාෂා කථා කළහ.

## 5. ශ්‍රාවකයන් කථා කළ අන්‍ය භාෂා තමන්ගේ ම මවු බසින් අන් අයට පැහැදිලි වීම.

මින් අපට පෙනී යන්නේ ශ්‍රාවකයන් අන්‍ය භාෂාවලින් කථා කළ ද, එහි සිටි අය එය තමන්ගේ ම බසින් එය ඇසීම යි. එය ශුද්ධාත්මයාණන් ගේ තවත් බලවත් ක්‍රියාවලියකි.

## 6. දෙවියන් වහන්සේගේ බලවත් ක්‍රියා ප්‍රකාශ කිරීම.

අන්‍ය භාෂා කථා කිරීම තුළින් ශ්‍රාවකයන් ප්‍රකාශ කළේ දෙවියන් වහන්සේගේ බලවත් ක්‍රියා යි. (ක්‍රියා 2 : 11). ජේසුස් වහන්සේගේ මරණයත් සමග ශ්‍රාවකයෝ මුළු ගැන්වී සිටියහ. එදින ශුද්ධාත්ම බලය කරණකොට ගෙන දෙවියන් වහන්සේගේ බලවත් ක්‍රියා පිළිබඳ ධෛර්යයෙන් හා බලයෙන් යුක්තව ඔවුහු සාක්ෂි දරනු ලැබූ හ.

## ශුද්ධාත්මයාණන් වහන්සේ වෙතින් අප ලබන සවිය හා නවෝදය

සී සී කඩ විසිර සිටි, ශ්‍රාවකයන් පෙන්තකොස්ත දා බල ගන්වනු ලැබිණි. එවිට ඔවුහු නිර්භයව දිරිමත්ව සවිමත්ව සාක්ෂි දැරූහ. එසේ ම ඔවුන්ගේ ජීවිතයට නව ජවයක්, එකමුතුකමක්, අරමුණක් සහ නවෝදයක් ලැබුණි.

අද දවසේත් ශුද්ධාත්මයාණන් වහන්සේ අප උන් වහන්සේගේ බලයෙන් පුරවන්නට බලා සිටින සේක. අපේ බිය පහකොට අප සැබෑ සාක්ෂිකරුවන් බවට උන් වහන්සේ පත් කරන සේක. එවිට අපේ ජීවිතයේ නව උදාවක් ඇති වනු ඇත. ඒ සඳහා උන්වහන්සේට අපේ ජීවිත භාර කරමු.

**ක්‍රියාකාරකම**

01. ශුද්ධාත්ම මගපෙන්වීම තුළ අපගේ සහෝදරත්වය වර්ධනය කරගත හැකි අවස්ථා කිහිපයක් සාකච්ඡා කරන්න.

02. ශුද්ධාත්ම මගපෙන්වීම් අයදිමින් යැදුමක් ලියන්න.

# 12. මුල් කිතුනු සභාව

**ශුද්ධාත්මයාණන් වහන්සේගේ පිහිට පෙරදැරිව ශක්තිමත් ව එක ම කණ්ඩායමක් හැටියට ආදර්ශවත් ව කටයුතු කළ මුල් සභාවේ ශ්‍රාවකයින් ගත කළ ජීවිතය අපට වැදගත් වන ආකාරය මෙම පාඩමින් විමසා බැලීමට අපේක්ෂිත ය.**

**ක්‍රියා 2 : 37 - 47**

'සභාව' යන්න ශ්‍රවණය වන විට අප මනසට නැගෙන්නේ දේවස්ථාන ගොඩනැගිල්ලකි. සභාවේ ඇදහිලිවතුන් රැස්වන ස්ථානයකි. නමුත් සභාව යනු ශුද්ධාත්මයාණන්ගෙන් දිරිය ලබා ඇදහිල්ලෙන් හා දෙව් බැතියෙන් යුතුව සාක්ෂි දරන සමූහයකි.

මුල් සභාව බිහිවූයේ ශුද්ධාත්මයාණන් වහන්සේ තුළිනි. පෙන්තකොස්ත දවසේ ශ්‍රාවකයන් ශුද්ධාත්ම දානයෙන් පසු ඔවුන්ගේ ජීවිතවල විශේෂ වෙනස්කම් ඇති විණි. එදින පේදුරුතුමාගේ දේශනය ශ්‍රවණය කළ පිරිස තුන්දහසකින් පමණ වර්ධනය විය. ඔවුහු පසුතැවිලි වී සිත් හරවා ගනිමින්, ජේසුස් වහන්සේගේ නාමයෙන් බව්තීස්ම ස්නාපනය ලැබූහ.

මෙසේ දවසින් දවස වැඩි වූ කිතුනු සභාවේ, ඇදහිලිවතුන් අතර පොදුවේ පැවති ලක්ෂණ හදාරමු.

### මුල් සභාවේ ලක්ෂණ




සභාව යනු මෙම කුළුණු මත වර්ධනය වන ක්‍රිස්තුස් වහන්සේගේ ශරීරයයි. සභාවේ පෝෂණය රැඳා පවත්නේ ශුද්ධාත්මයාණන් වහන්සේගේ ක්‍රියාකාරීත්වය මත ය.

## ඉගැන්වීම

ජුදෙව්වෝ ධර්ම ශාලාවල රැස්වෙමින් ශුද්ධ ලියවිලි ඉගෙන ගැනීමට පුරුදු පුහුණු වී සිටියහ. ඒ සඳහා ඔවුනට විනයධරයන්ගේ හා ධර්මශාලා නායකයින්ගේ සහාය ලැබුණි. පෙන්තකොස්ත දවසේ ශුද්ධාත්ම දානය ලැබූ ශ්‍රාවකයින් ඉගැන්වීමේ සේවයෙහි උනන්දුවෙන් නියැලුණි. ඔවුහු ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ මරණය හා උත්ථානය ගැන සාක්ෂි දරමින් ඉගැන්වූහ.

## සහභාගීකම

මුල් ක්‍රිස්තියානි සභාව තුළ සියලු දෙනා ප්‍රේරිතවරුන්ගේ නායකත්වය යටතේ රැස්වූ හ. ඔවුන්ට ලැබුණ ඉගැන්වීම් අනුව විවිධත්වය අගයමින් එක්සත්ව හා එක්සිත්ව අලුත් ජීවිතයකට හුරුපුරුදු වූහ. මෙය ඔවුන් අතර වර්ධනය වූ පොදු ජීවන රටාවකි.

## රොටි කැඩීම



මුල් සභාවේ, ප්‍රේරිතයන් හා ඇදහිලිවතුන් ගෙයින් ගෙට යමින් රොටි කැඩීමෙහි නියැලුණි. එසේම ප්‍රීතියෙන් හා ත්‍යාගිවන්ත සිතින් ආහාර එකිනෙකා අතර බෙදාගත්හ. මෙය ඔවුන්ගේ එකමුතුකම පෙන්වූ ලක්ෂණයකි.

මෙම රොටි කැඩීමේ ක්‍රියාවලිය තුළ උත්ථාන වූ ක්‍රිස්තුස් වහන්සේ අත්දකින්නට ඔවුන්ට හැකි විය. (1 කොරින්ති 11:23-26)

## සියල්ල පොදුවේ තබා ගැනීම

මෙය මුල් කිතුනු සභාවට ම පමණක් සුවිශේෂී ලක්ෂණයකි. ක්‍රිස්තුන් වහන්සේ පිළිගත් ජුදෙව්වන් අතර පොහොසත් අය මෙන් ම දුප්පත් අය ද සිටියහ. මුල් සභාවේ ඇති වූ වෙනස්කම වූයේ ශුද්ධාත්ම මගපෙන්වීම තුළ සැම දෙනා ම තමුන්ට අයිතිව තිබුණ දේ විකුණා ඒවා ප්‍රේරිතවරුන් පාමුල තැබීම යි. මෙයින් එකිනෙකා අතර, ප්‍රේමය හා සහෝදරත්වය වර්ධනය විය.

## යාච්ඤාව

මුල් කිතුනු සභාවේ පදනම වූයේ යාච්ඤාව යි. ජුදෙව්වරු ඔවුන්ගේ චාරිත්‍රවලට අනුව, නිශ්චිත වේලාවන්හි යාච්ඤා කළ බව පෙනේ (ක්‍රියා 3:1). ඒ සමගම මුල් සභාව නිතරම යාච්ඤාවේ නිරතවූහ.

අප කතා කළ මෙම ලක්ෂණ මූලික කරගෙන ඇති වූ මුල් කිතුනු සභාව ඉතා ඉක්මනින් වැඩී වර්ධනය විය. එහි ප්‍රතිඵල ලෙස සභාව තුළ පහත ලක්ෂණ දකින්නට ලැබුණි.

- සැමදෙනා තුළ දේව ගරු බිය ඇති වීම
- ප්‍රේරිතවරුන් අතින් බොහෝ විශ්මිත දේ සිදු වීම
- උත්ථානවූ ක්‍රිස්තුස් වහන්සේ පිළිගත් අයගේ ගණන දවසින් දවස වැඩි වීම.

## මුල් සභාවෙන් අපගේ ජීවිතවලට ආදර්ශ

කිතුනු දරුවන් ලෙස අප, දෙවියන් වහන්සේට දවසින් දවස ළං වී ජීවත් වීම අවශ්‍ය ය. එසේ ලඟා විය හැක්කේ යාච්ඤාවෙන් හා දේව වචනය හැදෑරීමෙන් හා උත්ථාන වූ ක්‍රිස්තුස් වහන්සේගේ ශරීරයේ කොටස් කරුවන් වීමෙනි. මෙයින් අපට පෙනී යන්නේ කිතුනු ධර්මය හුදු පුද්ගලික දහමක් නොවන බවය. එය සැමවිට ම දේව පවුලක් ලෙසට එකමුතුව අත්දැකිය යුත්තකි.

අප කිතුනු නමස්කාරය චාරිත්‍රයට හෝ පුරුද්දට පමණක් නො කළ යුතු ය. අපි නමස්කාර කරන සභාව තුළ උනන්දුවෙන් හා කැපවීමෙන් එහි යෙදෙන්නට හැමවිට ම උත්සාහ කරමු. මුල් සභාව ශුද්ධාත්ම ආලේපය ලබා එකමුතුව කල් යවමින්, දේව නමස්කාරයේ නියැලීම අපට මහත් ආදර්ශයකි. එකමුතුව නමස්කාර කරන සභාවක ශුද්ධාත්මයාණන් වහන්සේ බලවත් ලෙස ක්‍රියා කරන සේක.

ක්‍රිස්තුස් වහන්සේගේ ශරීරයේ කොටස් කරුවන් වෙමින් එකිනෙකාට උදව් කරමින් ද, නැතිබැරි අයට පිහිට වෙමින් ද, සභාව තුළත් සමාජය තුළත් ශක්තිමත් කිතුනු ජීවිතයක් ගත කරමු.

**ක්‍රියාකාරකම**

1. මුල් කිතුනු සභාවේ පැවති ලක්ෂණ හඳුනාගන්න.
2. නමස්කාරයේ වැදගත්කම සාකච්ඡා කරන්න.

# 13. සුවය දෙන සමිඳාණෝ

පේදුරු තුමා සහ ජොහන් තුමා ඔවුන්ගේ සේවය ආරම්භයේ දී ම කොර ව සිටි මිනිසකු සුවපත් කිරීමේ සිද්ධිය ගැන මෙහි දී විමසා බලමු. දෙවියන් වහන්සේ පූර්ණ සුවය සලසන සමිඳාණන් බව මින් වැඩිදුරටත් අවබෝධ කර ගනිමු.

## ක්‍රියා 3 : 1 - 10

අප දැන් විමසා බලන්නට යන්නේ ක්‍රියා පොතේ 3 : 1 - 10 ඇති පේදුරු තුමා හා ජොහන්තුමා කළ පළමු සුව කිරීම පිළිබඳව යි. ඔවුහු ජෙරුසලම් දේව මාලිගාවේ යාච්ඤා කරන වේලාව වූ සවස 3.00 ට යාච්ඤා කිරීම සඳහා පැමිණියහ.

සුදර්ශන නම් ලත් දොරටුව ආසන්නයේ රෝගීන් හා යාචකයන් රැඳී සිටියහ. ඔවුහු එතැනින් යන - එන බැතිමතුන්ගෙන් නිරතුරුව ම සිඟමන් ඉල්ලූහ. මේ සිද්ධියේ සඳහන් වන කොර වූ පුද්ගලයා උපන් දා පටන් ඒ ආබාධයෙන් පෙළෙමින් සිටියේ ය.

පේදුරු තුමා හා ජොහන් තුමා දේව මාලිගාවට පැමිණෙන විට දී ද මොහු සිඟමන් ඉල්ලුවේ ය.

පේදුරු සහ ජොහන් "අප දෙස බලන්න"යැයි ඔහුට පැවසීය. ඔහු ඔවුන් දෙස බැලූ කල පේදුරුතුමා මෙසේ පැවසී ය.

**"රන්වත් රිදීවත් මට නැත. එහෙත් මට ඇති දේ ඔබට දෙමි. නාසරෙත්හි ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ නාමයෙන් ඇවිදින්න." (ක්‍රියා 3 : 6)**



අනිත් සියලුදෙනා ම කොර වූ පුද්ගලයාට මුදල් දෙන්නට ඇත. එය ලබා ටික දිනකින් අවසන් වේ. අප අනිත් අයට උදව් කිරීම අවශ්‍ය ය. එහෙත් අප නිතර ම දිය යුත්තේ දෙවියන් වහන්සේ අපට දෙන ඉස්තරම් දේ ය. ශුද්ධාත්මයාණන්ගේ බලයෙන් දැන් පේදුරු කොර වූ පුද්ගලයාගේ ජීවිතයට අවශ්‍ය ම දේ දෙන්නට සූදානම් ය. ඒ දෙවියන් වහන්සේ ලබා දෙන සුවයයි. පේදුරුතුමා මේ අවස්ථාවේ දී ජේසුස් වහන්සේගේ නාමයෙන් මෙසේ අණ කරයි.

**"නාසරෙත්හි ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ නාමයෙන් ඇවිදින්න."**
මේ අවස්ථාවේ දී පේදුරු ඔහුගේ අත දිගුකොට ඔහු නැගිටවී ය. ඔහු පවසන්නේ වචන කීපයක් පමණක් නොවේ. ඒ තුළ ශුද්ධාත්මයාණන්ගේ බලය ගැබ් වී තිබේ. ප්‍රතිඵලය නම් කොර වූ පුද්ගලයාගේ පාද සහ වළලුකර ශක්තිමත් වී ඇවිදීමට හැකියාව ලැබීම යි, ඔහුට සුවය ලැබීම යි.

## කොර වූ තැනැත්තාගේ ප්‍රතිචාරය

ඔහු සුවය ලැබූ විට, දක්වන ප්‍රතිචාරය සලකා බලන්න. ඔහු "ඇවිදිමින් උඩ පනිමින්", දෙවියන් වහන්සේට ප්‍රශංසා කළේ ය. එතැනින් නතර නො වුණු හෙතෙම, ජීවිතයේ කිසි දිනක නො පිවිසි දේව මාලිගාව ඇතුළට ද පිවිස දෙවියන් වහන්සේට ප්‍රශංසා කළේ ය.

**මෙම සුවකිරීමේ සිද්ධියෙන් අපට ලද හැකි දේ කුමක් ද?**

- ජේසුස් වහන්සේ අපගේ රෝගවලට සුවයත් ජීවිතයට ප්‍රීතියත් සහනයත් ලබා දෙන සේක.
- සුවය මිල මුදලට සීමා කළ නො හැකි ය.
- ජේසුස් වහන්සේ පටන්ගත් සේවය ශුද්ධාත්මයාණන් වහන්සේ ඉදිරියට ගෙන යන සේක.
- උන් වහන්සේ සිය ශ්‍රාවකයින් තුළින් සුභාරංචියේ සේවය ඉටු කරන සේක.
- ප්‍රේරිතයන් සිදු කළ සියලු සුවකිරීම්වලට බලය ලබා දෙනු ලැබුයේ ශුද්ධාත්මයාණන් වහන්සේය.
- ශුද්ධාත්මයාණන් වහන්සේ අද දවසේත් සුවපත් කිරීම සඳහා අප යොදවන සේක.
- එසේ ම අපට අවශ්‍ය ශාරීරික සුවය පමණක් නොව මානසික සුවය ද ආත්මික සුවය ද ජේසුස් වහන්සේ ලබා දෙන සේක.

මේ ගැනත් සිතන්න. . . . . .

සුවය උදෙසා අප කළ යුත්තේ ඇදහිල්ලෙන් යාච්ඤා කිරීම ය.

එවිට ශුද්ධාත්මයාණන් වහන්සේ අපට පිළිතුරු ලබා දෙන සේක.

පේදුරු තුමා හා ජොහාන් තුමා ට ඔවුන්ගේ ශක්තියක් ගැන නොව ජේසුස් වහන්සේගේ නාමය කෙරේ ඇති විශ්වාසය බලවත් විය.

අප ද සැම විට ම මේ ලෝකයේ මිල මුදලින් ලබා ගැනීමට උත්සාහ කරන සුවයට වඩා ශුද්ධාත්ම බලයෙන් ලබන සුවය ගැන බලවත් විශ්වාසයක් ඇතිව සිටිය යුතු වේ.

මෙසේ අපිත් ශුද්ධාත්ම ක්‍රියාකාරීත්වයට අපගේ ජීවිතයෙන් ඉඩ දෙමු.

## ක්‍රියාකාරකම

1. සුදර්ශන දොරටුව අසල සිටි කොර වූ මිනිසා සුවපත් කිරීම තුළින් ඔබ උගත් කරුණු 05 ක් ලියන්න.

2. ඔබේ යහළුවන් වෙනුවෙන් යාච්ඤා කළ යුතු කරුණු කිහිපයක් ලියන්න.

# 14. දෙව් වදන් පිළිපදිමු

**ජේසුස් වහන්සේගේ ඉගැන්වීම් අතර කන්ද උඩ දේශනයෙහි ඇති පණිවුඩය අපගේ ජීවිතවලට මහත් බලපෑමක් ඇතිකරයි. එම ඉගැන්වීම්වලින් කිහිපයක් ගැන විමසා බැලීම මෙම පාඩමින් අපේක්ෂිත ය.**

**ශු. මතෙව් 5:43-48, 6:5-15, 7:24-29**

## සතුරාට ප්‍රේම කිරීම

ශාන්ති - අද මොකද වේලාසනින් ම වැඩට යන්න ලෑස්ති වෙලා.

දමිත් - ආ . .. ශාන්ති මට ඔයාට කියන්න බැරි වුණානේ කාරණයක්. අපේ වැඩපොළේ මට කරදර කරන සමරසේකරගේ දරුවා හොඳට ම අසනීපයෙන් ලු. මිනිහා ඉන්නෙ හොඳට ම හිතේ කරදරෙන්. හොඳ වැඩේ එයාට උණේ. මට හිතෙන්නෙ සමරසේකරට ටික කාලයකට වැඩට එන්න බැරිවේවි ගෙදර කරදර නිසා. මිනිහට ඔහොම වෙලා මදි මට කරන කරදර වලට.

ශාන්ති - අනේ පව් දමිත්. ඔයා ඇයි ඒ මනුස්සයාට කරදරයක් වුණා ම සතුටු වෙන්නේ. එයා ඔයාට හිරිහැරයක් වුණාට එයාට අවශ්‍ය උදව්වක් කරන එක තමයි ඔයා කරන්න ඕනේ. දරුවා බලන්න යන එක, ඒ අය ගැන යාච්ඤා කරන එක, මම හිතුවේ නැහැ ඔයා ඔච්චර නරක විදිහට මිනිස්සු ගැන හිතයි කියලා.

දමිත් - ඔයා දන්නේ නැහැනේ මගේ වැඩපළේ දේවල්. එතන ඉන්න අය බලන්නේ ලොක්කට කේලම් කියලා බොරු වැරදි පටවලා මාව අමාරුවේ දාන්න. ඒකට මුල්තැන ගත්තේ ඔය සමරසේකර තමා. මිනිහා නිසා මම හැමදාමත් එකම තනතුරේ රැඳිලා ඉන්නවා. මට පස්සේ ආපු අය ඉහළ තනතුරුවලට යන්නේ මට විරුද්ධව වැඩ කරලා

ශාන්ති - ඔයා ඊයේ දේව නමස්කාරයට ගිහිල්ලා දේශනයට ඇහුම්කන් දුන්නා නේ ද? ජේසුස් වහන්සේ අපට කරන්න කියලා තියෙන්නේ, ? "ඔබේ සතුරාට ප්‍රේම කරන්න. ඔබට පීඩා කරන්නන් උදෙසා යාච්ඤා කරන්න කියලා නේ ද? ඒ නිසා ඔයත්, ඔයාට ඔය තියෙන ප්‍රශ්න කරදර ඉදිරියේ හොඳම දේ තමයි සතුරුකම් කරන අයට යාච්ඤා කරන එක. ඒ අයගේ සිත් වෙනස් කර දෙන්න කියලා ඔයා යාච්ඤා කරන්න.

දමිත් - ඔයත් මාව තේරුම් ගන්නේ නෑ ශාන්ති. මම කේන්තියෙන් ඉන්නේ මගේ වැඩපළේ දෙතුන් දෙනෙක් එක්ක විතරයි. ඔයා කියනවා වගේ මට ලොකු හතුරෝ නැහැ. මට උදව් කරන අය එක්ක මම හොඳින් ඉන්නවා. මට උදව් කරන අයට මමත් හරියට උදව් කරනවා.

ශාන්ති - බයිබලයේ ලියලා තියෙන්නේ, ඔයා ළඟින් ඉන්න, ඔයාට උදව් කරන ඔයාගෙ සහෝදරයන්ට පමණක් ප්‍රේම කරන්න කියල නෙමෙයි. ඔයාට සතුරුකම් කරනවා කියන අය සමග ප්‍රේමයෙන් ක්‍රියා කරන්න කියල යි. ඒ අයගෙ හිත් වෙනස් කරන්න කියලා ඔයා දෙවිඳුන්ට යාච්ඤා කරන්න. ඔයාගෙ ජීවිතේට අනිවාර්යයෙන් ම සහනයක් ලැබේවි. ඔයා අද වැඩට යන්න ඉස්සෙල්ලා මේ බයිබල් කොටස කියවලා යාච්ඤා කරලා යන්න.

**කියවා බලමු**
**ශු. මතෙව් 5:43-48**

**ඔබට සතුරුකම් කරන අය ලෙස ඔබ හඳුනා ගන්නේ කවරෙක් ද?**

- අපට පීඩාවක්, කරදරයක්, පාඩුවක් කරන අය ද ?
- අප පවුලට, ආගමට, ජාතියට අයත් නොවන අය ද ?
- අප සමග සිටිමින් අපට නොදැනෙන සේ, අප හිංසාවට පීඩාවට ලක් කරන අය ද ?
- අපගේ සිතුම් පැතුම්වලට, අදහස්වලට එකඟ නො වන අය ද ?
- අපට තිබෙන වත් පොහොසත්කම්වලට ඊර්ෂ්‍යා කරන අය ද ?

මෙලෙස අප, අපට කුමන අයුරකින් හෝ පීඩා කරන්නන් සතුරන් ලෙස සලකමු.

ජේසුස් වහන්සේ අපට මෙසේ වදාරන සේක

**"නුඹේ අසල්වැසියාට ප්‍රේම කරන්න, සතුරාට වෛර කරන්න යැයි කී බව ඔබ අසා තිබේ. එහෙත් මම ඔබට කියමි. "ඔබේ සතුරන්ට ප්‍රේම කරන්න. ඔබට පීඩා කරන්නන් උදෙසා යාච්ඤා කරන්න"**
**ශු. මතෙව් 5: 43-44**

**ඔබට සතුරුකම් කරන අය උදෙසා කුමක් කළ යුතු ද?**

✼ පීඩා කරන්නන් හඳුනාගෙන ඔවුන් උදෙසා යාච්ඤා කිරීම.

✼ සතුරාගෙන් පීඩා පැමිණෙන විට ඊට ප්‍රති විරුද්ධව ක්‍රියා නොකිරීම.

✼ සතුරාට ප්‍රේම කිරීමට අවශ්‍ය ශක්තිය ඉල්ලා යාච්ඤා කිරීම.

✼ පීඩා පැවතියත් යහපත් පැවැත්මෙන් යුතුව ක්‍රියා කිරීමට යොමු වීම.

✼ දේව දරුවන් ලෙස ලොවට ආදර්ශයක් වන අයුරින් ජීවත් වීම.

✼ සතුරාට ප්‍රේම කිරීම සාමාන්‍ය ජීවිතයේ දී අසීරු වුවත් එම අසීරු කාර්යය ඉටු කිරීම.

## යාච්ඤාව පිළිබඳ ඉගැන්වීම

**කියවා බලමු**
**ශු. මතෙව් 6: 5-15**

ඔබ යාච්ඤා කිරීමේ දී ප්‍රවේශම් විය යුතු කාරණා ජේසුස් වහන්සේ මෙසේ උගන්වන සේක.

✼ කෛරාටිකයන් මෙන් නො කරන්න.

✼ මිනිසුන්ට පෙනෙන ලෙස නොකර ඇතුළු කාමරයට වැද, දොර වසා, අදෘශ්‍යමානව වසන ඔබේ පියාණන් වහන්සේට යාච්ඤා කරන්න.

✼ දිගින් දිගට හිස් වචන නො දොඩන්න

**"ඔබ ඉල්ලන්නටත් පෙර ඔබේ වුවමනා කවරේදැයි පියාණන්වහන්සේ දන්නා සේක"**
**ශු. මතෙව් 6: 8**

කිතුනු දරුවන් වන අප යාච්ඤා කළ යුතු ආකාරය ජේසුස් වහන්සේ මෙසේ ඉගැන්වූ සේක.

**ස්වර්ගයෙහි වැඩ වසන අපගේ පියාණෙනි,**
**ඔබ වහන්සේගේ නාමයට ගෞරව වේවා,**
**ඔබ වහන්සේගේ රාජ්‍ය පැමිණේවා.**
**ඔබ වහන්සේගේ කැමැත්ත ඉටුවේවා.**
**ස්වර්ගයෙහි මෙන් පොළොවෙහි ද එසේ ම වේවා,**
**අපගේ දවස් පතා ආහාරය අපට අද දුන මැනව,**
**අපට වරද කළ අයට අප කමා කලාක් මෙන් අපේ වරදට කමා වුව මැනව.**
**අප පරීක්ෂාවට නොපමුණුවා නපුරාගෙන් අප මිදුව මැනව**
**ශු. මතෙව් 6: 9-13**

ජේසුස් වහන්සේ ඉගැන්වූ යාච්ඤාව තුළ ඇති පොදු ලක්ෂණ නම් එහි **ඉල්ලීම් හා යුතුකම්** පවතින බවයි.

## ඉල්ලීම්

❉ අපගේ දවස්පතා භෝජනය
දෙවියන් වහන්සේ අපගේ ශාරීරික හා ආත්මික අවශ්‍යතා සපයමින් අප පෝෂණය කරන සේක.

❉ අපගේ වරදට කමාව.
අපට බොහෝ සේ ප්‍රේම කරන දෙවියන් වහන්සේ අපගේ වරදට කමාව ප්‍රදානය කරන සේක.

❉ පරීක්ෂාවට නොපමුණුවා නපුරාගෙන් අප මුදවා ගැනීම.
සමාජයේ පවත්නා බොහෝ පරික්ෂාවන් ඉදිරියේ නොසැලී නිවැරදි දේ ක්‍රියාත්මක කිරීමට උන් වහන්සේ අපට ශක්තිය දෙන සේක.

ජේසුස් වහන්සේ ඉගැන්වූ යාච්ඤාවේ "ඉල්ලීම්" පිළිබඳව ඇති පොදු ලක්ෂණය වන්නේ ආත්මාර්ථකාමීව **'මා'** උදෙසා නොව පරාර්ථකාමීව **'අප'** උදෙසා ඉල්ලීමයි.

## කමාව ලැබීමට අපගේ යුතුකම

❉ අපට වරද කළ අයට අප කමා කළාක් මෙන් අපගේ වරදට කමාව හිමි වන බව.
අපට වැරදි කරන අය උදෙසා අප කමාව ලබා දිය යුතු බව මින් පැහැදිලි ය. එසේ අප එකිනෙකාට කමා කරන කල අපගේ වරදට දෙවිඳුන්ගේ කමාව හිමි වේ.

අප **කමාව ලැබීමට නම් කමාව දීමට ද** සූදානම් විය යුතු බව මින් පැහැදිලි වේ. තමාට කමාව හිමිකර ගැනීමට තමාගේ ක්‍රියා කලාපය බෙහෙවින් ඉවහල් වන බවට දක්වා ඇත.

# අත්තිවාරම් දෙක

**කියවා බලමු**
**ශු. මතෙව් 7:24-29**

ක්‍රිස්තියානි ජීවිතයේ පදනම ස්වාමීන් වහන්සේ කෙරෙහි ඇදහිල්ලයි. ඇදහිල්ල තුළ ශක්තිමත් වීමට කිතුනු දරුවන් වන අප දේව වචනය අධ්‍යයනය කළ යුතු වේ. ඒ අනුව තම ජීවිත හැඩගස්වා ගත යුතු වේ. තම ජීවිත ගමනේ දුකේ දී හා සැපේදී උන් වහන්සේ තුළ විශ්වාසයෙන් යුතුව රැඳී සිටීම වැදගත් වේ. විශේෂයෙන් දුක් කරදර මැද ජීවිතය ගතකරන මොහොතේ දී, නොසැලී දේව වචනය අනුව තම ජීවිතය හැඩගස්වා ගත යුතු බව ජේසුස් වහන්සේ මෙසේ වදාරන සේක.

**"එහෙයින් යමෙක් මාගේ වචන අසා ඒවා පිළිපදී ද,**
**ඔහු පර්වතය මත තමාගේ ගෙය තනාගත් නැණවතෙකුට සමාන ය.**
**වැසි වැස, ජලය ගලා, සුළඟ හමා ඒ ගෙට ගැසී ය.**
**එය පර්වතය මත පිහිටි බැවින් බිඳ නොවැටිණි"**
**ශු. මතෙව් 7: 24-25**

තවද ජේසුස් වහන්සේගේ ධර්මය අසන නමුත් එය අමතක කොට ඊට ප්‍රතිවිරුද්ධව ක්‍රියාකොට ඇදහිල්ල බිඳ වැටෙන අය පිළිබඳව ජේසුස් වහන්සේ මෙසේ වදාරන සේක.

**"තවද යමෙක් මාගේ වචනය අසා, ඒවා නොපිළිපදී ද, ඔහු වැලි මත ගෙය තනා ගත් අනුවණ මනුෂ්‍යයෙකුට සමාන ය. වැසි වැස ජලය ගලා, සුළඟ හමා ඒ ගෙට ගැසී ය. එය බිඳ වැටුණි. එහි වැටීම ද භයංකාර ය"**
**ශු. මතෙව් 7: 26-27**

කිතුනු ඔබ පර්වතය මත ගෙයක් තැනූ නැණවතෙකුට සමාන විය යුතු වේ. දේව වචනය අසා එය පිළිපදින දරුවන් විය යුතු වේ. මන්ද දේව වචනය තුළ ජීවත් වීමෙන් අපගේ ජීවිත දෙවිඳුන් තුළ සවිමත් වන බැවිනි. ජේසුස් වහන්සේගේ ඉගැන්වීම් තුළ සවිමත් වන අප, එය තම ජීවිතයට අදාළ කර ගනිමින් දේව රාජ්‍යයේ වටිනාකම් පෙරදැරි කොට සදාචාරාත්මක සමාජයක් ගොඩ නැගීමට දායක වෙමු.

**ක්‍රියාකාරකම**

1. ඔබට පීඩා කරන අය උදෙසා යැදුමක් ලියන්න.
2. ඔබගේ පන්තියේ අවශ්‍යතා ඇති මිතුරෙකුට මෙම පාඩම ඇසුරින් ඔබට කළ හැකි උපකාර 3 ක් ලියන්න.

# 15. හැකියාවන් දේව ගෞරවයට

රන්කාසි දසය' හා 'නැති වූ බැටළුවා' යන උපමා තුළින් අපට ලැබෙන දේවාශීර්වාදවල වටිනාකමත් මනස්ථාපනයේ වටිනාකමත් එළිදරව් වේ. ජේසුස් වහන්සේගේ මෙම ඉගැන්වීම්වලින් නිකුත්වන දේව පණිවුඩය තේරුම් ගනිමින් එය ජීවිතයට අදාළ කර ගැනීම සම්බන්ධව විමසා බැලීම මෙම පාඩමෙන් අපේක්ෂිත ය.

**ශු. ලූක් 15:1-7, 19:11-27**

ජේසුස් වහන්සේ තම ඉගැන්වීම් සඳහා යොදාගත් සරල උපමා ශෛලිය ජනතාව අතර එදා ඉමහත් ලෙස ජනප්‍රිය විය. නැති වූ බැටළුවා හා රන්කාසි දසය පිළිබඳ උපමා කතා අද ද කිතුනුවන් ඉතා ආසාවෙන් අසන, කියවන කතා වස්තු දෙකකි.

**මින් පළමුව අපි නැති වූ බැටළුවා ගැන උපමාව විමසා බලමු.**



"බැටළුවා" යනුවෙන් මූලිකව සංකේතවත් වන්නේ කිතුනු අප ය. "එඬේරා" නම් ජේසුස් වහන්සේ ය.

බැටළුවන් වන අප එක රැළකට අයත්ව එක ස්වාමියෙක් යටතට පත් ව සිටීම දෙවි පියාණන්ගේ කැමත්ත යි. රැළේ එකට සිටින බැටළුවන් වන අපට සාමූහික වගකීමක් ඇත. එවිට දුකක් පැමිණියත්, ප්‍රීතියක් පැමිණියත් එම ප්‍රීතියත් දුකත් එකට භුක්ති විඳිය හැකි ය. ඒ සියලු කටයුතුවල දී අපගේ රැළේ යහපත් එඬේරා සිටින හෙයින් උන්වහන්සේගේ රැකවරණයත් ශක්තියත් අපට ඇත.

නමුත් ප්‍රශ්නය ඇතිවන්නේ අපි උන්වහන්සේගේ රැළේ බැටළුවන් ලෙස ඉඳිමින් වෙන්ව හා තනි තනිව සිතන්නට යන විට දී ය. එවිට අපි තනි ගමනක් යන්නට තීරණය කරයි. එසේ යන්නේ පාපකාරී සිතුවිලි ඇතිව ය. නමුත් එසේ හිතුමතේට යන විට අප ඉක්මනින්ම අමාරුවේ වැටෙන බව නැතිවූ බැටළුවාගෙන් අපට ජේසුස් වහන්සේ පෙන්වා දෙයි.

“ඔබ අතුරෙන් බැටළුවන් සියයක් ඇති කවර මනුෂ්‍යයෙක්,
උන්ගෙන් එකකු නැති වුවහොත්,
අනූ නව දෙනා පාලුකරයෙහි හැර දමා,
නැති වූ එකා පසු පස්සේ ගොස්,
ඌ සම්බවන තුරු සොයන්නේ නැද්ද ?
ඒ බැටළුවා සම්බ වූ විට ඔහු ප්‍රීති වෙමින්,
ඌ කර තබාගෙන ගෙදර අවුත් මිතුරන්ද අසල්වැසියන් ද කැඳවා,
“මා සමඟ ප්‍රීති වන්න.
මාගේ නැති වූ බැටලුවා සම්බ වී”යයි ඔවුන්ට කියයි.
ශු. ලූක් 15: 4-6

එසේ රැළෙන් වෙන්ව අකීකරුව පාපයට යොමුවන බැටළුවන් සොයා ඔහු ළඟට එන ජේසුස් වහන්සේගේ ප්‍රේමයේ ගුණයයි. සමාජයේ පාපකාරී භයානක කාරණාවලට යොමුවී ඇති කවුරුන් හෝ ඉන් මුදා ගැනීම අපට ඇති අභියෝගය යි.

අපට දෙවියන් වහන්සේගෙන් ලැබී ඇති අසීමිත දේව කරුණාව තුළ ලැබී ඇති හැකියාවන් ගැන සිතා අන් අයට ද ඒ කරුණාව අත් දකින්නට සැලැස්වීම අපගේ යුතුකම විය යුතුය. ඒ සඳහා දෙවියන් වහන්සේ අපට හැකියාව දෙන සේක. පාපයට වැටී සිටින එක් මිතුරකු හෝ මිතුරියක ඉන් මුදවා ගන්නට අප කටයුතු කරන විට ස්වර්ගයේ මහත් ප්‍රීතිය ඇතිවන බව මෙම උපමාවෙන් අපට පෙන්වා දෙයි.

## රන් කාසි දසය පිළිබඳ උපමාව




රදළ පෙළපතෙහි වූ එක් මනුෂ්‍යයෙක් විය. ඔහු රාජ පදවිය ලබා එනු පිණිස දුර රටකට පිටත්ව යාමට පෙර ඔහු තමාගේ දාසයන් දස දෙනෙකු කැඳවීය. ඔවුන්ට රන් කාසිය බැගින් ලබාදී මා එනතුරු මෙයින් වෙළහෙළඳාම් කරන්නැයි කියා පිටත් විය.

ඔහු රාජ පදවිය ලබා පෙරළා ආ විට, තමා මුදල් දුන් දාසයන් වෙළහෙළඳාමෙහි කොපමණ උපදවා ගත්තේ දැයි දැනගන්නා පිණිස ඔවුන් කැඳවීය.

| | | |
|---|---|---|
| රජතුමා | - | මා දුන් රන් කාසියෙන් ඔබ කොපමණ මුදල් උපයා ගත්තෙහි ද? |
| පළමු දාසයා | - | ස්වාමිනී ඔබේ එක් රන් කාසියෙන් රන් කාසි දසයක් උපදවා ගතිමි. |

රජතුමා - ඉතා හොඳ ය. යහපත් වූ දාසය ඔබ ඉතා සුළු දෙයක් ගැන විශ්වාසී වූ බැවින් නගර දසයක් කෙරේ අධිපති වන්නේ ය.

ඉන්පසු රජ දෙවෙනි සේවකයාගෙන් විමසන ලදී.

රජතුමා - ඔබ කොතෙක් උපදවා ගත්තෙහි ද?

දෙවන දාසයා - ස්වාමිනී ඔබ දුන් රන් කාසියෙන් රන් කාසි පහක් උපදවා ගතිමි.

රජතුමා - ඔබත් නගර පහක් කෙරෙහි අධිපති වන්නෙහි ය.

මෙලෙස රජතුමා තම දාසයන් කැඳවා තමා උපයා ගත් ප්‍රමාණයන් පිළිබඳව විමසා බලා ඉතා සතුටු විය. නමුත් ඒ අතර එක් දාසයෙකුගේ පිළිතුර වූයේ

දාසයා - ස්වාමිනී, මෙන්න ඔබේ රන් කාසිය. එය රෙදි කඩක ඔතා තැබීමි. මන්ද ඔබ නොදුන් දෙය ගන්නා වූ, නොවපුළ දෙය කපන්නාවූ දැඩි සිතක් ඇති කෙනකු බැවින් ඔබට බිය වුනෙමි.

(එවිට රජතුමා දැඩි ලෙස උදහස්ව කතා කරමින්)

රජතුමා - නපුරු දාසය, ඔබෙ වචන වලින්ම ඔබ විනිශ්චය කරමි. මා නුදුන් දෙය ගන්නා වූ නොවපුළ දේ කපන්නා වූ දැඩි සිතක් ඇති කෙනෙකු බව ඔබ දැන සිටියේ නම් මා ආ විට පොළියත් සමග අයකරගනු පිණිස මාගේ මුදල් තැන්පත් නො කළේ මන්ද?

(රජතුමා ඉන් පසු ළඟ සිටිය තම දාසයන්ට කථා කරමින්)

රජතුමා - ඒ කාසිය ඔහුගෙන් ගෙන කාසි දසය ඇත්තාට දෙන්න.

සේවකයා - ස්වාමිනී ඔහුට කාසි දසයක් ම ඇත.

රජතුමා - ඇති හැමට වැඩියෙනුත් දෙනු ලැබේ. නැති අයගෙන් ඇති දෙයත් ගනු ලැබේ.

මෙම උපමා කථාව තුළින් ජේසුස් වහන්සේ අපට ප්‍රකාශ කළේ අපට දී ඇති හැකියාවන් වර්ධනය කර ගනිමින් දේව රාජ්‍යය උදෙසා ක්‍රියාකළ යුතු

ආකාරය වේ. එමෙන් ම තමන්ට ලැබී ඇති හැකියාවන් ක්‍රියාවට නැංවීමෙන් එම හැකියාවන් තවත් දියුණු කර ගත හැකි බව පැහැදිලි වේ. එලෙසින්ම ලැබී ඇති හැකියාවන් සඟවා තබා ගතහොත්, පවතින හැකියා පවා ගිලිහී යාමට ඉඩ ඇත.එම නිසා තම හැකියා වර්ධනය කර ගනිමින් ක්‍රියා කරන විට දේව කරුණාව ලැබෙන බැවින් ඊට අනුකූලව ක්‍රියා කිරීමට යොමු වෙමු. උන් වහන්සේ ලබා දුන් දේවාශිර්වාද තුළ ජීවත් වන අප ඒවා නිසි ලෙස පරිහරණය කරමින් එකිනෙකාගේ ජීවිත සවිමත් කිරීමට යොමු වෙමු.

### සිතා බලන්න.

ඉහත උපමා කතා දෙක අනුව දේව රාජ්‍යයේ වටිනාකම් පෙරදැරි කර ගනිමින් සදාචාරාත්මක සමාජයක් ගොඩ නැගීමට දායක වෙමු. දෙවිඳුන් වෙතින් ඈත්ව ක්‍රියා කරන්නන් පව්කරුවන් සේ ප්‍රතික්ෂේප කිරීම නොව ඔවුන් පිළිගෙන සමිඳුන්ගේ කරුණාව ඔවුන් වෙත දැක්වීමට උත්සාහ ගනිමු. ඔවුන් නැවත ස්වාමින් වහන්සේ වෙත කැඳවා ගැනීමට අප යොමු වී ක්‍රියා කරමු.

තවද එම දූත කාර්යය ඉටු කිරීමට අපට ලැබී ඇති අවස්ථා හඳුනා ගනිමින් අපගේ හැකියා ඒ සඳහා කැප කරමු. එමෙන්ම එම හැකියා නොසඟවා දේව ගෞරවය හා මහිමය උදෙසා කැප කරමින් යහපැවැත්මෙන් යුතු සමාජයක් ගොඩ නැගීමට ක්‍රියා කරමු.

### ක්‍රියාකාරකම

1. ඔබට ලැබී ඇති අන් අය වෙනුවෙන් වැය කළ හැකි විශේෂ හැකියාවන් 5 ක් නම් කරන්න.

2. ඔබගේ මිතුරු මිතුරියන් නැවත ස්වාමීන් වහන්සේගේ ගෘහය වෙත කැඳවාගෙන ඒමට ඔබ ගනු ලබන පියවර 3 ක් ලියන්න.

# 16. සැවොම පිළිගනිමු

**ජේසුස් වහන්සේ ජීවත් වූ සමාජයේ පිළිගැනීමට ලක් නොවූ බොහෝ අය වූහ. එවැනි සමාජයක් තුළ උන් වහන්සේ දේව රාජ්‍යයේ වටිනාකම් ඉස්මතු කර ක්‍රියා කළ ආකාරය විමසා බැලීම මෙම පාඩමින් අපේක්ෂිත ය.**

**ශු. මාක් 10:13-16 , ජොහන් 4: 7-10, 25-30, 39**

ජේසුස් වහන්සේගේ වචනය ඇසීමට උන් වහන්සේ පසු පස පැමිණි බොහෝ ජනකාය අතර සිටි කාන්තාවෝ තම දරුවන් රැගෙන ආවේ ආශිර්වාද ලබා ගැනීම පිණිස ය.

මවක් :- අන්න අන්න ජේසුස් වහන්සේ මේ පැත්තට එනවා. අපි ඉක්මනින් අපේ දරුවන් රැගෙන යමු.

තවත් මවක් :- යමු යමු අපේ දරුවන් ආශිර්වාද කර ගන්න. උන්වහන්සේ ළඟට යමු.

ශ්‍රාවකයෙක් :- (තරවටු කරමින්) දැන් උන්වහන්සේට කරදර කරන්න එපා. මෙතනින් අයින් වෙන්න.



මවක් :- අනේ, අපේ දරුවන්ට ආශිර්වාද කර ගන්නයි අපි යන්නේ.

ශ්‍රාවකයෙක්:- අපි දැන් කිව්වනේ. ඔය ළමයි ගෙනල්ලා උන් වහන්සේට කරදර කරන්න එපා කියලා.

ජේසුස් වහන්සේ:- ළදරුවන්ට මා වෙත එන්න ඉඩ දෙන්න. ඔවුන් වළක්වන්න එපා. දෙවියන් වහන්සේගේ රාජ්‍යය මෙබඳු අය සන්තක ය.

මවක් :- අන්න උන් වහන්සේ දරුවන්ට කතා කරනවා. පුතාලා දූලා ඉක්මනින් උන් වහන්සේ ළඟට යන්න.

ජේසුස් වහන්සේ:- (දරුවන් තුරුලට ගෙන) සැබවින්ම මම ඔබට කියමි. යම් කෙනකු දෙවියන් වහන්සේගේ රාජ්‍යය ළදරුවකු සේ පිළිනොගත්තොත් ඔහු කිසිසේත් එහි ඇතුළු නොවන්නේ ය.

මෙලෙස ජේසුස් වහන්සේ දරුවන් උසස් පිළිගැනීමකට ලක් කළ සේක. දරුවන්ට ආදරය කරමින් ආශිර්වාද කළ සේක. "ස්වර්ග රාජ්‍යය මෙබඳුවන්ගේ "යයි පවසමින් දරුවන් අගය කරමින් දරුවන් හට මහත් වටිනාකමක් දුන් සේක. තවද දෙවියන් වහන්සේගේ රාජ්‍ය ළදරුවකු සේ පිළිගැනීම පිළිබඳව උන් වහන්සේ මෙහිදී සුවිශේෂිව ප්‍රකාශ කළ සේක. එනම් කුඩා දරුවන් සමාන වීම සහ දරුවන් සතු ගුණාංග වූ නිහතමානිකම, යටහත් පහත් බව යනාදී ගුණාංග මිනිස් ජීවිත පැවැත්ම තුළ තිබිය යුතු බව ය.

ඒ නිසා කිතුනු දරුවන් වන අප ද උන් වහන්සේගේ ආදරය හා ආශීර්වාදය හිමිකර ගැනීමට නිහතමානි හා යටහත් පහත් බව අපගේ ජීවිතවල වර්ධනය කර ගනිමු. එසේ කිරීමෙන් උන් වහන්සේගේ ආදරයට හා පිළිගැනීමට ලක් වන දරුවන් වෙමු.

**ජේසුස් වහන්සේට අපගේ ආදරය ප්‍රකාශ කරමින් මෙය ප්‍රීතියෙන් ගයා අපගේ ජීවිත දේව මෙහෙවර උදෙසා කැප කරමු.**

බාල කාලේ දී ම - මාගේ පුංචි සිත
දෙන ලෙස මම - එම් දැන් ඔබ වෙත
ජේසුනි එම් දැන් - එම් දැන් බැතින් ම
මා සිත සුද්ද කරන් - ඔබගේ ලෙයින් ම

**කියවා බලමු**
**ශු. ජොහාන් 4: 7-10, 25-30, 39**

එලෙසින් ම එදා සමාජයේ ජුදෙව් ජනතාව හා සමාරිත ජනතාව අතර කිසිදු සම්බන්ධකමක් නොතිබූ නමුත් ජේසුස් වහන්සේ සමාරිත ජනතාව පිළිගනිමින් ක්‍රියා කළ සේක. එවැනි අවස්ථාවක් පිළිබඳව සලකා බලමු.

පොතේ ගුරු -

වඩියි සමාරිය මැදින් ජේසු තුම
ළිඳක් අසලකින් නවතියි වෙහෙසව
ස්ත්‍රියක් සමාරියේ ඇවිදින් එතැනට
සැරසෙයි දිය පුරවන්නට සැනෙකින

ජේසුස් සමිඳුන් ඇය අමතන්නේ
වතුර ටිකක් දෙන්නැයි කියමින්නේ
එනමුත් එම වදනට විගසින්නේ
අකමැති බව අඟවයි මෙලෙසින්නේ



සමාරියේ ස්ත්‍රිය :- ජුදෙව් සමාජය, සමාරියේ අප
පිළිගන්නැති බව දන්නා ඔබ තුම
වතුර ටිකක් මට දෙන්නැයි කියමින
අමතන්නේ මා ඔබ තුම කෙලෙසද

ජේසුස් වහන්සේ :- හඳුනයි නම් මා කවරෙකු දැයි ඔබ
ඉල්ලනු ඇත ඔහුගෙන් පැන් විගසින
දෙන්නෙමි ජීවන පැන් මම ඔබ හට
පිපාස නොවනට මින් මතු කිසි දින

පොතේ ගුරු :- ජේසු සමිඳු ගැන හඳුනා ගත් ඇය
එතුමන් මෙසියස් තුම ලෙස පිළිගෙන
සමාරිය ගමේ සාක්ෂි දරමින
කැඳවයි ගම් වැසියන් එතුමන් වෙත

ජේසු සමිඳු සැම විටක ම සැම දෙන
පිළිගත් ලෙස කරුණා හදකින් සොඳ
කිතුනු අපි ද පවතිමු දෙව් ගුණ තුළ
සේවය කරමින සැම හට එක ලෙස

ඉහත ගීත නාටකයට අදාළ සිදුවීම තවදුරටත් කියවා බලමු.

සමාරියේ ස්ත්‍රිය හා ජේසුස් වහන්සේ අතර පැවති සංවාදය පිළබඳ හැදෑරීමේ දී ජුදෙව්වන් හා සමාරියයන් අතර පැවති සමාජ පසුබිම හඳුනාගත හැකි ය. ජේසුස් වහන්සේ එම තත්ත්වය වෙනස් කරමින් සමාරිය ස්ත්‍රිය උන්වහන්සේගේ දහමින් පෝෂණය කරමින් ඇයගේ ජීවිතයට වටිනාකමක් ලබා දුන් සේක.

සමාරිය ස්ත්‍රිය ජේසුස් වහන්සේ, මෙසියස් වහන්සේ බව පිළිගෙන සාක්ෂි දැරූ ලෙස අප ද පළමුව ජේසුස් වහන්සේ හඳුනාගනිමු. අපගේ දුර්වලතා කුමක් වුවත් උන්වහන්සේ අපව ද සේවයට කැවන සේක. එම කැඳවීම හඳුනාගෙන ක්‍රියාශීලී ව කිතුනු සේවයක යෙදීම තුළින්

- සැවොම පිළිගැනීමට,
- සැමට ආදරය කිරීමට,
- සැම විට සැම හට සේවය කිරීමට යොමු වෙමු'



**අපි ජේසුස් වහන්සේට අපගේ යැදුම් ඔප්පු කරමු.**

ආදරණීය පියාණෙනි, අප සමාජයේද විවිධ හේතූන් නිසා පිළිගැනීමට ලක් නොවූ ආදරයට හා කරුණාවට ලක් නොවූ, අගය කිරීමට ලක් නොවූ බොහෝ අය සිටින බව දන්නා සේක. කිතුනු දරුවන් වන අපට ඔවුන් පිළිගෙන කටයුතු කිරීමටත් ආදරය දැක්වීමටත් අපගේ සිත් නැඹුරු කළ මැනව. දේව රාජ්‍යයේ වටිනාකම් පෙරදැරි කරගනිමින් ක්‍රියාශීලී ව සේවයේ නියැලීමට අපට ශක්තිය දුන මැනව

**ක්‍රියාකාරකම**

1. ඔබේ පන්තියේ පිළිගැනීමට ලක් නොවන අය වෙනුවෙන් මෙම පාඩම ඇසුරින් ඔබට කළ හැකි ක්‍රියා 2ක් විස්තර කරන්න.

2. ජේසුස් වහන්සේගේ ආදරය අත් දකින ඔබ ඒ පිළබඳ තුති පුදමින් ගීතයක් හෝ කවියක් නිර්මාණය කරන්න.

# 17. විපතේ දී පිහිට වෙමු.

වර්තමාන සමාජයේ අපට බොහෝ විට අසන්නට හා දකින්නට ලැබෙන්නේ විවිධ දුක් කම්කටොළු හා ව්‍යසනයන්ට ගොදුරු වන මිනිසුන් පිළිබඳව ය. එවන් සමාජ තත්ත්වයන් ඉදිරියේ දෙවියන් වහන්සේ කිතුනු අපෙන් බලාපොරොත්තු වන්නේ කුමක් දැයි වටහා ගැනීම මෙම පාඩමෙන් අපේක්ෂිත ය.

**ක්‍රියා 11:27-30, ගලාති 3:28**


සුනාමි


සුළි සුළං


භූමි කම්පා


නියඟ


ගංවතුර

මෙහි දැක්වෙන්නේ අප එදිනෙදා ජීවිතයේ දී මුහුණ දෙන ගැටලු අවස්ථාවන් ය. තව ද විවිධ ව්‍යසන නිසා ද මිනිසුන් පීඩා විඳින ආකාරය අපට දැකගත හැකි ය.

## එම අවස්ථාවල දී කිතුනුවන් ලෙස අප කෙසේ ක්‍රියා කළ යුතු ද?

**කියවා බලමු**
**ක්‍රියා 11-27-30**

ඉහත බයිබල් කොටසට අනුව,

- ❖ ක්ලෞදියස් රජුගේ කාලයේ ලොව පුරා සාගතයක් පැවති බව පැහැදිලි ය.
- ❖ ජේසුස් වහන්සේගේ ශ්‍රාවක පිරිස සාගතයේ දී තම තමාගේ වත්කමේ හැටියට ජුදයේ සිටි සහෝදරයන්ට ආධාර යවන්නට තීරණය කර ගත්හ.
- ❖ ඔවුහු ආධාර එකතු කර බාර්ණබස් හා සාවුල් අත සභා මූලිකයන් වෙත යැවූහ.

ඉහත සිද්ධියට අනුව මුල් කිතුනු සභාව එකිනෙකාගේ අවශ්‍යතා පිළිබඳ ව සැලකිලිමත් ව කටයුතු කළ බව පැහැදිලි ය. තව ද එම අවස්ථාවන්ට සාර්ථක ව මුහුණ දී ක්‍රියා කිරීමට නිවැරදි පියවර ගෙන ඇති බව ද ඉන් පැහැදිලි ය.

ජේසුස් වහන්සේගේ ඉගැන්වීම් අනුව අප සැම විට ම අසල්වැසියාට ප්‍රේමයෙන් ක්‍රියා කළ යුතු වේ. එදිනෙදා ජීවිතයේ දී මුහුණ දෙන විවිධ ප්‍රශ්න කරදර ඉදිරියේ එකිනෙකාගේ අවශ්‍යතා වෙනුවෙන් අප ද,

තම තමාගේ පුළුවන්කමේ හැටියට උපකාර කිරීමට යොමු විය යුතු වේ.

- ❖ මුදල් ආධාර ලබා දීම.
- ❖ ශ්‍රමයෙන් උපකාර කිරීම.
- ❖ එකිනෙකාට සවන් දීම.
- ❖ එකිනෙකා පිළිගැනීම.
- ❖ ආදරයෙන් යුතුව ක්‍රියා කිරීම.

සමාජ අවශ්‍යතා ඉදිරියේ එකිනෙකාට උපකාර කිරීමට මූලිකත්වය ගෙන ක්‍රියා කිරීමෙන් තම ජීවිතය කැප කිරීමටත් ඉදිරිපත් විය යුතු වේ.

- ❖ සමිති සමාගම්වල සමාජිකත්වය හා නායකත්වය දැරීම.
- ❖ අවශ්‍යතා ඉදිරියේ මූලිකත්වය ගෙන ක්‍රියා කිරීම.
- ❖ තම හැකියා සේවයට යෙදීම.
- ❖ නිවැරදි තීරණ ගැනීමට යොමු වීම.
- ❖ පීඩාවෙන් මුදවාලීමට සාමූහිකව ක්‍රියා කිරීම.

උපකාර කිරීමේ දී අවශ්‍යතා ඇති අය හඳුනාගෙන ඔවුන්ගේ අවශ්‍යතාව පිළිබඳ නිසි සැලකිල්ල යොමු කිරීමට පියවර ගත යුතු වේ.

- ඇඳුම් පැලඳුම්, ආහාර පාන සැපයීම.
- උපදේශනය.
- මානසික හා ශාරීරික සුව සහනය සැලසීම.
- පිළිගැනීම හා ආදරය.

සමාජ අවශ්‍යතා සඳහා උපකාර කිරීමට සංවිධානය වීමත් නිසි අයුරින් පියවර ගැනීමත් සිදු කළ යුතු වේ.

- කලට වේලාවට පිළිවෙළට වැඩ කිරීම.
- නාස්තිය අවම කිරීම.
- සැලසුම් සහගතව කටයුතු කිරීම.

සමාජ අවශ්‍යතා ඉදිරියේ තවදුරටත් ඔබට ක්‍රියාත්මක විය හැකි
ආකාරය පිළිබඳ ව සිතා බලන්න.

මෙවැනි ප්‍රශ්න සහිත ජීවිත අපට මුණගැසුන විට අප ක්‍රියා කරන්නේ කෙලෙස ද?

**"ඔබ සියල්ලන්**
**ක්‍රිස්තුස් ජේසුස් වහන්සේ තුළ**
**එක්කෙනෙකු මෙන් සිටින නිසා**
**යුදෙව්-ග්‍රීක බේදයක්වත්**
**දාස-නිර්දාස බේදයක්වත්**
**ස්ත්‍රී පුරුෂ බේදයක්වත් නැත.**
**ගලාති 3:28**

**මෙවැනි සමාජ අවශ්‍යතා ඉදිරියේ**

- බේද නොතකා ක්‍රියා කළ යුතු වේ.
- උපකාර කිරීමේ දී මිත්‍රකම්වලට විශේෂ සැලකිල්ලක් නො දැක්විය යුතු ය.
- ප්‍රතිඋපකාරයක් බලාපොරොත්තුවෙන් නො කළ යුතු ය.

- අපගේ උපකාරය කිසි වාසියක් ලැබීම සඳහා නො විය යුතු ය.
- ස්තුතියක් බලාපොරොත්තු නොවී අවංක ව කැපවීමෙන් සේවය කළ යුතු ය.
- හැකි තරම් සාමූහික සේවයකට එක්විය යුතු ය.
- අපගේ මිතුරන්ට අවශ්‍යතාව දන්වමින් ඔවුන්ගේ උදව් යුහුසුළුව ගත යුතු ය.
- ඔවුන් වෙනුවෙන් යාච්ඤා කිරීම සඳහා අප අන් අය ද කැඳවිය යුතු ය.
- සහජීවනයෙන් එකිනෙකා අතර සහෝදරත්වයෙන් කටයුතු කිරීමට සංවිධානය විය යුතු ය.

**ක්‍රියාකාරකම**

1. ඔබ පාසල් පරිසරය තුළ ඇති වූ අනපේක්ෂිත ව්‍යසනයක දී ඔබ පාසලේ කිතුනු දරුවන් හා කිතුනු ගුරුවරුන් එක්ව ක්‍රියාත්මක කළ හැකි/හෝ කළ වැඩ පිළිවෙලක් සාකච්ඡාකරන්න.

2. සමාජ ගැටලුවල දී ඔබ කළ යුතු යාච්ඤාවක් ලියන්න.

# 18. ශුද්ධ බයිබලයේ මූලාශ්‍ර

**ශුද්ධ ග්‍රන්ථයක් වන ශුද්ධවූ බයිබලය ලියැවී ඇති මූලාශ්‍ර සොයා බලමින්, එය මනුෂ්‍යයා විසින් දේව අනුහස ඇතිව ලියැවී ඇති බව තේරුම් ගැනීම මෙම පාඩමේ අරමුණ වේ.**

(පන්ති කාමරයක් තුළ,)

දමිතා : නිර්මලා මේ බලන්න, මා අද ගෙදරින් ගෙනා පොත

නිර්මලා : අනේ හරිම ලස්සනයි. (පොත ගෙන පිට කවරය කියවයි) "දීප්ත ළමා මග" මොකක්ද දමිතා මේ?

දමිතා : මේක ළමයින් වෙනුවෙන් ලියා තිබෙන බයිබලයක්. මේ බලන්න, බයිබලයේ කථා ලස්සන පින්තූරත් එක්කම තියෙනවා.
(ගුරුතුමිය පංතියට පැමිණෙයි)

සිසුන් : සුබ උදෑසනක් වේවා!

ගුරුතුමිය : සුබ උදෑසනක් වේවා දරුවනි!

නිර්මලා : මේ බලන්න ගුරුතුමියනි දමිතා අමුතු ම බයිබලයක් ගෙනත්.

ගුරුතුමිය : ආ, දීප්ත ළමා මග නේද? ඔය ලංකාවේ බයිබල් මුද්‍රණය කරන බයිබල් සමාගම ළමයි වෙනුවෙන් ම ලියූ එකක්.

දමිතා : මේක මට ගිය සැරේ නත්තලට පුංචි අම්මා තෑගි දුන්නේ.

ගුරුතුමිය : හරි ම වටිනා තෑග්ගක් ඔයාට ලැබී තියෙන්නේ. හොඳයි දැන් හැමෝ ම වාඩිවෙන්න. අද මා, මේ විදියට බයිබල් ලියවෙන්නට කලින්, එහි මූලාශ්‍ර ගැන විස්තරයක් කරන්නටයි යන්නේ. හොඳයි ඉස්සෙල්ල ම ඔයගොල්ල කියන්න බයිබලය ගැන ඔයාලා දන්නේ මොනවා ද?

චාමිනි : බයිබලය දේව වචනය කියලා බයිබල් පාසලේ මට උගන්වන අක්කා කෙනෙක් කියලා දුන්නා.

ගුරුතුමිය : ඔව්, බයිබලය දෙවියන් වහන්සේගේ වචනය හැටියට හඳුන්වනවා. ඒ වගේම බයිබලය ලියූ විවිධ අයට දෙවියන් වහන්සේ පිළිබඳ ලියන්නට දේව මගපෙන්වීම දී තිබෙනවා. ඒකට අපි කියනවා දේවානුභාවයෙන් ලියවිලා කියලා. මුළු බයිබලයම ලියැවෙන්න අවුරුදු 1000 ක විතර කාලයක් ගත වෙලා තියෙනවා.

මිහිරි : බයිබලය විශාල පොතක්. අපේ සීයා හැමවෙලාවෙ ම බයිබලය ගැන කියන්නේ 'ශුද්ධ' පොතක් කියලයි.

ගුරුතුමිය : ඔව් බයිබලය දෙවියන් වහන්සේගේ වචනය නිසා, එය ශුද්ධ පොතක් හැටියට හඳුන්වන එක හරියට ම හරි! බයිබලයට දීර්ඝ ඉතිහාසයක් තියෙනවා. ග්‍රීක් භාෂාවෙන් මෙය හඳුන්වන්නේ 'බිබ්ලියා' කියලයි. එහි තේරුම 'පොත්' යන්නයි. මුල් කාලයේ පටන් ශුද්ධ ලියවිලි ගල් පුවරුවල පැපිරස් පත්‍රවල හා පදම් කළ හම්වල ලියැවී තිබෙනවා. ඒ ගැන අපි දැන් සොයා බලමු.

රොහාන් : බයිබලයේ ආඥා දසය ගල් පුවරුවල ලියලා තිබුණා කියලා නේද කියන්නේ?

ගුරුතුමිය : අන්න හරි රොහාන්. නික්මයාම 31 :18, අපි කියවලා බලමු.

**උන්වහන්සේ සීනයි කන්ද මත**
**මෝසෙස් සමග කථාකොට නිම කළ පසු**
**දේව ඇඟිල්ලෙන් ලියන ලද**
**ගල් පුවරු වන ගිවිසුම් පුවරු දෙක ඔහුට දුන් සේක.**

දමිතා : ඔව් එතැන තියෙනවා "ගල් පුවරු වන ගිවිසුම් පුවරු" කියලා.

ගුරුතුමිය : ආදී යුගයේ ගලක් පැතලි ලෙස සාදලා, පුවරුවක් ලෙස සකස් කර ගන්නවා. මේවා මුලින් ම මෝසෙස් තුමාගේ කාලයේ දී ලියවිලා කියලයි විශ්වාස කරන්නේ.

මේ බලන්න මෙන්න මෙවැනි ගල්පුවරුවල දේව වචනය සඳහන්ව තිබී සොයාගෙන තිබෙනවා.


ගල් පුවරුවක්





ගල් පුවරු

දමිතා : ඒත් මේවා උස්සගෙන යන්න අමාරුයි නේ. ඒ වගේ ම කොච්චර කියලා ගල් පුවරු හදන්න ද?

ගුරුතුමිය : ඒක හරි. ගල් පුවරුවලට අමතරව "පැපිරස් පත්" වලත් දේව වචනය ලියැවී තිබෙනවා.

සුගත් : පැපිරස් පත්! අමුතුම නමක්, ඒ මොනවා ද?

ගුරුතුමිය : පැපිරස් කියන්නේ විශේෂයෙන් නයිල් ගඟ ළඟ වැඩුණ කඳ තුන් පැත්තකින් ඇති ගහක කොළ. ඒ කොළ ගහෙන් වෙන් කරලා, වේළලා තළලා ලියන්නට පාවිච්චි කළා. බයිබලයේ බොහෝ කොටස් ඒවායේ ලියලා තිබුණා. 'වෙළුමක්' හැටියට, ඒ කියන්නේ කොළෙන් කොළේ සම්බන්ධ කරගෙන ලියලා තිබුණේ. මේවා "හැකුළුම් පත්" හැටියට හඳුන්වනවා.

රොහාන් : කොච්චර අමාරු වැඩක් ද ඒක. කොච්චර මහන්සි වෙන්න ඇති ද?

ගුරුතුමිය : ඔව් හුගාක් අමාරු වැඩක්. ඒත් ඒ අය ඒක කළා. මේ බලන්න පැපිරස් පත්වල දේව වචනය ලියැවිලා තිබෙන හැටි.



පැපිරස් පත



හැකුළුම් පත්

| | | |
|---|---|---|
| ගුරුතුමිය | : | මේ වාගේ පැපිරස් ලේඛන 1947 අවුරුද්දේ මළ මුහුද ළඟ කුම්රාන් කියන තැනින් අවුරුදු 2000 ක් පමණ පැරණි ඒවා ලැබිලා තියෙනවා. |
| දමිතා | : | මේවා විනාශ නොවී තියාගන්නේ කොහොම ද? ඒ අය කොච්චර නම් මහන්සි වෙන්න ඇති ද? |
| ගුරුතුමිය | : | ඒක හොඳ ප්‍රශ්නයක්. ඒ කාලේ මැටි භාජන හදලා ඒවා ඇතුළේ ශුද්ධ ලියවිල්ල ලියූ ලියවිලි දමලා ආරක්ෂා කරගෙන තිබෙනවා. මිහිරි, බලන්න ජෙරමියා 32 : 15 පදය කියවන්න. |

**ඉශ්‍රායෙල්වරුන්ගේ දෙවි ස්වාමින් වහන්සේ**
**මේ ඔප්පු, එනම් මුද්‍රාව තැබූ මිලේට ගැනීමේ ඔප්පුවත්,**
**විවෘත ඔප්පුවත් රැගෙන, බොහෝ කල් පවතින පිණිස**
**මැටි භාජනයක තබන්නට නියම කර ඇත.**
**ජෙරමියා 32 : 14**

| | | |
|---|---|---|
| ජනිත් | : | ඒ වගේ මැටි භාජන තිබුණ බවට එය හොඳම උදාහරණයක්. ඒත් මේ පරණ පිළිවෙළට නොවේ අද බයිබලය තියෙන්නෙ. එහි බොහෝ කතන්දර හා සිද්ධි කොළවල ලියවිලා තියෙනවා. |
| ගුරුතුමිය | : | ඊශ්‍රායෙල් සෙනඟ දෙවියන් වහන්සේ ඔවුනට කළ බලවත් ක්‍රියා මතකයේ තියාගත්තා. එසේ ම ශුද්ධ ලියවිල්ල දෙවියන් වහන්සේ ම ලබා දුන්න බව විශ්වාස කළා. දැන් අපි යෙසායා 59:21 පදය කියවමු. |

**'නුඹලා කෙරෙහි පවරා ඇති මගේ ආත්මානුභාවය ද,**
**නුඹලාගේ මුවෙහි තබන ලද මාගේ වචනය ද,**
**නුඹලාගේ මුඛයෙන්වත්,**
**නුඹලාගේ දරුවන්ගේ මුඛයෙන්වත් . .**
**පහව නො යන්නේ ය.'**
**යෙසායා 59: 21**

| | | |
|---|---|---|
| දමිතා | : | ඒක නම් පුදුම මතකයක්! |
| ගුරුතුමිය | : | ඔව්, එහෙම මතක තියාගෙන ඒ ගොල්ලන්ගේ දරුවන්ට කිව්වා. ඒ විදියට පරම්පරාවෙන් පරම්පරාවට ඒවා මතක තියාගත්තා. ඒකට අපි කියන්නේ "වාචික සම්ප්‍රදාය" (මුඛ පරම්පරාගත සම්ප්‍රදාය) කියලයි. ඒ කියන්නේ ඒ දේවල් කටින් කට පවත්වා ගෙන එමින් මතකයෙන් ආරක්ෂා |

කරගැනීමයි. මෙසේ ඔවුන්ට පසුව දේව වචනය ලියා තබා ගැනීමට අවශ්‍යතාව මතු වුණා. දෙවියන් වහන්සේ ඒවා ලියන්න මග පෙන්වූවා. මෙන්න මේ පහත කාරණාවලින් ඔබට පෙනේවි එසේ ලිවීමේ වැදගත්කම කුමක් ද කියලා.

❖ වාචික සම්ප්‍රදායෙන් (මුඛ පරම්පරාගතව) පැමිණි දේව වචනය නො වෙනස්ව තබා ගන්නට.

❖ ඒ තුළින් බොහෝ දෙනකුට තේරුම් ගැනීම පහසු කරන්නට.

❖ ඉදිරි පරම්පරාවට ලිඛිතව එය ලබා දීමට.

❖ බැබිලෝනීය විප්‍රවාසීව සිටි ඉශ්රායෙල් සෙනඟ පෙරළා ඇවිත් නැවත දේව මාලිගාව ගොඩනගන්නට ගත්තා. ඒ සඳහා ද ඔවුන්ට දේව වචනයේ මඟ පෙන්වීම අවශ්‍ය වුණා.

❖ දෙවියන් වහන්සේම දේව වචනය ලියා තබන්නට පවසා එහි අවශ්‍යතාව පෙන්වූ සේක.

**'මා නුඹට කී සියලු වචන පොතක ලියන්න.' (ජෙරමියා 30 : 02)**

❖ පොතක ලිවීමෙන් එය සුරක්ෂිත වෙයි.

❖ එවිට එය දේව නමස්කාරයේදීත් භාවිතා කළ හැකි වෙයි.

එම නිසා ශුද්ධ බයිබලය කිතුනු අපට වටිනා ම ග්‍රන්ථයයි. එය දේවාත්මානුභාවයෙන් ලියා ඇති නිසා අපේ ජීවිතයට මහත් උපකාරයක් වෙයි. ශුද්ධ බයිබලය දිනපතා කියවන්නට, ඒ ගැන මෙනෙහි කරන්නට අපි හැම පුරුදු විය යුතුයි.

ඉන් අපේ ජීවිතවලට මහත් සවියක් ලැබෙනු ඇත. මෙසේ ශුද්ධ ලියවිල්ලෙන් මඟ පෙන්වීම ලබමු. එය ජීවිතයට ආලෝකයක් කර ගනිමු.

**ක්‍රියාකාරකම**

1. ඔබ ඉගෙන ගත් ලෙසට ශුද්ධ ලියවිල්ල මුලින් ම ලියැවී තිබුණේ කෙලෙස ද?

2. වාචික සම්ප්‍රදායෙන් පැවැතුණ දේව වචනය ලිවීමෙන් ලැබුණු විශේෂ ප්‍රයෝජන 5 ක් ලැයිස්තු ගත කරන්න.

# 19. ශුද්ධ බයිබලය සම්බන්ධ පුරෝගාමීන්

**ශුද්ධ බයිබලයේ ව්‍යාප්තිය සඳහා පුරෝගාමී වූ පුද්ගලයන් හා ආයතන පිළිබඳව අවබෝධයක් ලබමින්, එය අගය කරමු.**

## මේරි ජෝන්ස් හා තෝමස් චාල්ස්

අද අපට බයිබලයක් ලබා ගැනීම එතරම් අපහසු නැත. සහනදායී මිලකට එය දන් අපට බයිබල් සමාගමෙන් ලබා ගත හැකි යි. එහෙත් එක්තරා කාලයක බයිබලයක් සොයාගැනීම පවා අසීරු වුණා. බයිබලයේ වටිනාකම කියා නිම කළ නො හැකි ය.

පහත සඳහන් වන්නේ එක්සත් රාජධානියේ වේල්ස් හි 1784 දී උපත ලද මේරි ජෝන්ස් යන අවුරුදු 09 ක ගැහැනු ළමයකු බයිබලයක් ලබා ගැනීම සඳහා වෙහෙස මහන්සි වූ ආකාරය යි.



මේරි ජෝන්ස්

මේරි ජෝන්ස් පාසලේ දී,

| | | |
|---|---|---|
| ගුරුතුමී | : | මේරි, අද අපේ පාඩම කානාහී සරණ මංගල්‍යය ගැනයි. බලන්න ජොහන්තුමාගේ ශුභාරංචියෙන් ඒක කියවන්න. |
| මේරි | : | මට ඒ කථාව ටිකක් මතකයි. ඒත් ඒක හරියට ම කියවන්න මා ළඟ බයිබලයක් නැහැ නේ. අපේ පල්ලියේ දේවගැතිතුමා ළඟ විතරයි වෙල්ෂ් භාෂාවෙන් බයිබලයක් තියෙන්නේ. අනේ මටත් බයිබලයක් ලබා ගන්න පුළුවන් නම්! |
| ගුරුතුමී | : | ඒක ඇත්ත මේරි. බයිබලයක් තමන්ට ම කියලා තියෙන කොට ඒක හරි ප්‍රයෝජනවත්. ඒත් බයිබලයක් ගන්න හුඟක් සල්ලි අවශ්‍ය යි. |

(මේරි හරි උත්සහවන්තයි. ඇයට ඕනෑ වුනා කොහොම හරි බයිබලයක් මිලට ගන්න. ඇය අම්මයි තාත්තයි කෑම කන්න දුන්න සල්ලි එකතු කළා. දර එකතු කරලා විකුණුවා. කිකිළියන් හදලා බිත්තර විකුණුවා. ඇය කිට්ටුව පාත ගෙවල්වලට ගිහිං වැඩ කළා. මී මැසි පට්ටියක් ද නඩත්තු කළා. ඇයට ප්‍රමාණවත් මුදලක් එකතු කරගන්න අවුරුදු හයක් විතර ගත වුණා.)

(මේරි බයිබල් තියෙන ප්‍රදේශයක් වූ 'බාලා' යන ස්ථානයට ගමන් ඇරඹුවා.)

මේරි : හරි මහන්සියි. ඒත් මට ම කියලා බයිබලයක් ලබා ගන්න පුළුවන් කියලා හිතෙන කොට, මහන්සිය නැතිවෙලා යනවා.

මග යන්නෙක් : දුව, ඔයා කොහෙද මේ යන්නේ? බලන්න ඔයාට හරියට මහන්සියි. දැන් රෑ වේගනත් එනවා ඔයාගේ සපත්තුත් හොඳටම ගෙවිලා.

මේරි : මාමා මට කියන්න, බාලාවල තෝමස් චාල්ස් දේවගැතිතුමා ඉන්න තැන.

මග යන්නා : ඔහොම කෙලින් ම ගියා ම හම්බවෙන පල්ලියේ තමයි එතුමා ඉන්නේ.

(එදින මේරි බාලාවල සිටි ගරු එඩ්වඩ් දේවගැතිතුමාගේ නිවසේ නතරව, ඊළඟ දින තෝමස් චාල්ස් මහතාව මුණ ගැසෙන්නට ගියා. මේරි, චාල්ස් මහතා හමුවෙමින්)

මේරි : මට වෙල්ෂ් බයිබලයක් ඕනෑ. මං බයිබලයක් ගන්න අවුරුදු හයක් සල්ලි එකතු කළා. මේ තියෙන්නේ ඒ සල්ලි!

තෝමස් චාල්ස් මහතා : ළමයා මං ළඟ තිබුණු වෙල්ෂ් බයිබල් සේරම ඉවර වුණානේ.

මේරි : අනේ, මට කොහොම හරි බයිබලයක් දෙන්න. මට ඒක රත්තරන් වගෙයි. අනේ මම කොච්චර කලක් මේකට බලන් උන්න ද!

තෝමස් චාල්ස් මහතා : හොඳයි. මගේ යහළුවකුට වෙන් කරපු බයිබලයක් තියෙනවා ඒක මම ඔබට දෙන්නම්.

මේරි : ඔබතුමාට දේව පිහිටයි.

(මේරි ජෝන්ස් බයිබලය තුරුළු කරගෙන ඉතා වේගයෙන් තම ගෙදරට දුවන්න පටන් ගත්තා.)

මේ ඉතා ආකර්ෂණීය කථාවට පසුව අපි බයිබල් පරිවර්තනයට කැප වූ කෙනෙකුගේ ජීවිතය ගැන ඉගෙන ගනිමු.

## ගරු විලියම් කේරි දේවගැතිතුමා (1760 – 1834)

විලියම් කේරි උපත ලද්දේ එංගලන්තයේ ය. එතුමා කුඩා කල සිට ම පරිසරයටත්, සතුන්ටත් ආදරය කළ අතර පොතපත කියවීමටත් මහත් සේ ඇළුම් කළේ ය. ඔහු කුඩා කළ සපත්තු මැසීම හා ඒවා අලුත්වැඩියා කිරීම තම ජීවිකාව කර ගත්තේ ය. එහෙත් ඔහුගේ එක ම බලාපොරොත්තුව වූයේ දෙවියන් වහන්සේට සේවය කිරීමට ය. ඔහු සිය යහන ළඟ තිබූ ලෝක සිතියම දෙස බලමින් නිතරම ක්‍රිස්තුස් වහන්සේ නොහඳුනන සෙනඟ සම්බන්ධයෙන් යාච්ඤා කිරීමට පුරුදු වී සිටියේ ය.



ගරු විලියම් කේරි
දේවගැතිතුමා

දේව සේවය පිළිබඳ ඉතා උනන්දුවෙන් පසු වූ ඔහු 1791 දී සභාවක සභා පාලක දේවගැති තනතුරට පත් විය. සිය සභා සේවයට අමතරව ඔහු ධර්ම ප්‍රචාරය සඳහා බැප්ටිස්ට් දේව සංගමය පිහිටුවීමට පුරෝගාමී සේවයක් ඉටු කළේ ය. මේ අතරතුර, ඉන්දියාවේ සේවය කළ මහාචාර්ය තෝමස්ගේ අවවාද අනුශාසනා හා දිරිගැන්වීම ලැබ වයස අවුරුදු 33 දී එනම් 1793 දී ඉන්දියාව බලා පිටත් විය. එහි සේවය කරන අතරතුර තම බාල පුත් පීටර් වයස 5 දී දෙවියන් වහන්සේ තුළ සැතපුණ ද ඔහු ඉන් අධෛර්යය නොවී ය. එතුමා මුද්‍රණාලයක් පිහිටුවා කිතුනු සේවය සඳහා අවශ්‍ය පොතපත මුද්‍රණය කළ ද පසුව එය වසා දැමිණ.

එහෙත් වර්ෂ 1778 දී එතුමාගේ දේව මෙහෙවර සඳහා විශාල පිටිවහලක් ඔහු හා එක් වූ 4 දෙනෙකුගෙන් ලැබිණි. ඔවුන් එකතුව ප්‍රධාන ධර්ම දූත සේවා මධ්‍යස්ථානයක් එහි ඉදි කළ හ. මෙමඟින් ඔහුගේ ප්‍රධාන අභිලාෂය වූ බයිබල් පරිවර්තනය සඳහා මඟ පැදුණි.

එතුමාගේ කැප වූ මෙහෙවර නිසා භාෂා 40 කින් නව ගිවිසුම පරිවර්තනය විය. මුළු බයිබලය ඉන්දීය භාෂා 20 කට පරිවර්තනය කිරීමෙන් ඉන්දියාවේ බොහෝ සෙනඟට දේව වචනය කියවීමේ අවස්ථාව උදා වුණි. බයිබල් පරිවර්තනය තම සේවයේ ඒකායන අරමුණ කරගත් ඔහු කිසිදු පෞද්ගලික ඇගයීමක් බලාපොරොත්තු නොවී ය. එතුමා කීවේ "තමන් මළ පසු කේරි ගැන කථා නොකරන්න. එහෙත් ඔහුගේ ගැලවුම්කරු පිළිබඳව කථා කරන්න" කියා ය.

## බයිබල් සමාගම හා එහි කාර්යයන්

ලංකාවේ බයිබල් සමාගමට මුල් අඩිතාලම වැටුණේ 1812 දී කොළඹ පිහිටුවනු ලැබූ (British and Foreign Bible Society) බ්‍රිතාන්‍ය හා විදේශීය බයිබල් සමාගමිනි.

එහි එක් අංශයක් ලංකාවේ බයිබල් සමාගම් කටයුතු සඳහා වෙන් වුණි. ඊළඟ පියවර 1944 දී ලංකා හා ඉන්දියානු බයිබල් සංගමය පිහිටුවනු ලැබීම ය. ලංකා බයිබල් සමාගම (Ceylon Bible Society) ස්වාධීන ආයතනයක් බවට පත් වූයේ 1965 දී ය. මෙලෙස ශ්‍රී ලංකාව තුළ බයිබල් සමාගම් වැඩ කටයුතු ඇරඹී 2012 දී වසර දෙසියයක් සම්පූර්ණ විය.

කිතුනු ජනතාවට මුල පටන් ම බයිබල් පරිවර්තනය කර මුද්‍රණය කර දුන් ලංකා බයිබල් සමාගම ශ්‍රී ලාංකික සංස්කෘතිය හා ජන වහර යොදා ගනිමින් බයිබලයේ නව අනුවාදය 1982 දී නිකුත් කළේ ය. එහි ප්‍රතිසංස්කෘත පිටපත (Revised) 2006 දී නිකුත් කරන ලදී. සියලු කිතුනු ප්‍රජාවට එනම්, රෙපරමාදු, රෝමානු කතෝලික හා නව සභා සියල්ල එකතුව පොදු නව අනුවාදය නිකුත් කිරීම සභා අතර අන්‍යෝන්‍ය එකමුතුකම පිළිබිඹු කරයි.

## බයිබලය පෞද්ගලික පරිහරණය සඳහා

සෑම කිතුනුවකු ම තමන්ගේ ම කියා බයිබලයක් තබා ගැනීම අවශ්‍ය ම කරුණකි. බයිබලය තුළින් දේව මඟපෙන්වීම තම ජීවිතයට ලබා ගැනීමට එය දිනපතා කියවීම අවශ්‍ය ය. බයිබලය කියවන විට යාච්ඤාවෙන් යුතුව ශුද්ධාත්ම මඟපෙන්වීම සොයමු. එසේම බයිබල් අධ්‍යයනය පිළිවෙළකට සිදුකිරීමටත්, අවශ්‍ය සටහන් සකසා ගැනීමටත්, ඉන් අවකාශ ලැබේ. බයිබලයේ අන්තර්ගතය කිතුනු ජීවිතයට ඉතා මහඟු අත්වැලකි. ඔබත් දේව වචනය කියවීමට හුරු පුරුදු වන්න. බයිබලය දිවි මග සකස් කරන මූලාශ්‍රය බවට පත් කර ගන්න.

**ක්‍රියාකාරකම**

1. ලංකා බයිබල් සමාගමේ විවිධ සේවාවන් තුළින් ධර්ම ප්‍රචාරයට ලැබී ඇති පිටුවහල සාකච්ඡා කරන්න.

2. දේව වචනය ව්‍යාප්ත කිරීමට සිසුවකු වන ඔබට ගත හැකි පියවර මොනවාද?

# 20. ශුද්ධ බයිබලයේ පරිවර්තන

**ශුද්ධ බයිබලයේ ඇති දේව වචනය අද අපට අපේම භාෂාවෙන් අධ්‍යයනය කිරීමට හැකි වී තිබීම භාග්‍යයක් කොට සලකමු. එහි විවිධ පරිවර්තන හා දේශීය බසට එය පරිවර්තනය වීම පිළිබඳ ව මෙම පාඩමින් අධ්‍යයනය කිරීම අපේක්ෂිත ය.**

මනුෂ්‍යයා උදෙසා වූ දෙවියන් වහන්සේගේ ගැලවීමේ සැලැස්ම මුල සිට අග දක්වා ශුද්ධ බයිබලයේ ගැබ් වී ඇත. එම ගැලවීමේ සැලැස්ම අවබෝධ කර ගැනීම පිණිස දේව වචනය අධ්‍යයනය කළ යුතු වේ. එසේ අධ්‍යයනය කිරීමට ස්ව භාෂාවෙන් ශුද්ධ බයිබලය පරිවර්තනය වී තිබීම ඉතා ම වැදගත් කරුණකි. අද දින ඔබට ස්වභාෂාවෙන් බයිබලයක් හිමි කර ගැනීමට හැකි වුවත් එම කාර්යය ඉටු කිරීම පහසු කටයුත්තක් නොවී ය. ශුද්ධ බයිබලය ලේඛනගත වීම පිළිබඳ කරුණු අධ්‍යයනය කිරීම තුළින් ඒ බව ඔබට අවබෝධ වනු ඇත.

- ලිවීමේ කලාව හා මුද්‍රණ ශිල්පයේ දියුණුවත් සමග වාචික සම්ප්‍රදායේ පැවති ආගමික සත්‍යතා ශුද්ධ ලියවිලි ලෙස ලේඛනගත වීම ආරම්භ විය.

- මුල් යුගයේ පැරණි ගිවිසුම හෙබ්‍රෙව් බසින් ද නව ගිවිසුම ග්‍රීක් බසින් ද ලියැවී තිබිණි.

- අතීතයේ දී සාමාන්‍ය ජනතාවට ශුද්ධ බයිබලයේ ලියවිලි පහදා දුන්නේ පූජකවරු හා උගතුන් විසිනි. එයට හේතුව අකුරු කියවීමේ හා ලිවීමේ හැකියාව ඇති අය අඩු වීමත්, ශුද්ධ ලියවිලි පිටපත් සීමිත වීමත් නිසා ය.

- පසු කලෙක ශුද්ධ ලියවිලි විවිධ භාෂාවලට පරිවර්තනය කරන ලදී. එබැවින් තම භාෂාවෙන් ම ශුද්ධ බයිබලය කියවීමට බොහෝ දෙනකුට අවස්ථාව හිමි විය.

- දැනට ලෝකයේ භාෂා වැඩි ගණනකින්, වැඩි ම පිටපත් සංඛ්‍යාවක් මුද්‍රණය වී ඇති පොත වන්නේ ද ශුද්ධ බයිබලයයි. 2014 වසර වන විට ලෝකයේ භාෂා 511 කට සම්පූර්ණ බයිබලය පරිවර්තනය වී තිබේ.

❋ වර්තමානයේ ශුද්ධ බයිබලය සිංහල හා දමිළ භාෂාවට පරිවර්තනය වීම තුළ ලංකාව පුරා සුබ අස්න ව්‍යාප්ත වීමටත් පහසුවෙන් කියවා තේරුම් ගැනීමටත් බෙහෙවින් හේතු විය.

ශුද්ධ බයිබලය විවිධ භාෂාවලින් ලියවුණත් එහි අර්ථය හා පණිවුඩය වෙනස් නොවන සේ පැවතීම පිණිස දේව මග පෙන්වීම අතීතයේ සිට ලැබී තිබේ. එම පරිවර්තන සඳහා යොදාගෙන ඇත්තේ හෙබ්‍රෙව් පැරණි ගිවිසුම හා ග්‍රීක නව ගිවිසුම වේ. 1812 දී ශ්‍රී ලංකාවේ ද බ්‍රිතාන්‍ය හා විදේශීය බයිබල් සමාගමේ ශාඛාවක් ආරම්භ වීම නිසා ස්වභාෂාවෙන් ලිවූ ශුද්ධ බයිබලය මිල දී ගැනීමට අපට අවස්ථාව උදා වී ඇත. එබැවින් ශුද්ධ බයිබලය අවබෝධයෙන් කියවීමෙන් ජීවිතයට අවශ්‍ය දේව මග පෙන්වීම හා දෙවියන් වහන්සේගේ ආදරය අත්දකින්නට අපට හැකි වී ඇත.

## ශුද්ධ බයිබලයේ විවිධ පරිවර්තන

ශුද්ධ බයිබලයේ පැරණි ගිවිසුමේ හෙබ්‍රෙව් පිටපත ග්‍රීක් බසට පරිවර්තනය විය. එය සෙප්තුවාජින්ත නම් විය.

ශුද්ධ බයිබලයේ පැරණි ගිවිසුමේ ලතින් අනුවාදය 'වල්ගේට්' නම් විය.

ලතින් ශුද්ධ බයිබලය ඉංග්‍රීසි බසට පරිවර්තනය විය.

හෙබ්‍රෙව් පැරණි ගිවිසුම හා ග්‍රීක් නව ගිවිසුම ජර්මන් බසට පරිවර්තනය විය.

ශුද්ධ බයිබලය සිංහල බසට පරිවර්තනය විය.

| | |
|---|---|
| 1780 | ලන්දේසි යුගයේ දී මුළු බයිබලය ම සිංහල බසට පරිවර්තනය කරන ලදී. |
| 1850 | සංශෝධිත සිංහල නව අනුවාදය |
| 1938 | එක්සත් සිංහල අනුවාදය |
| 1983 | පොදු නව අනුවාදය |
| 1996 | නව පොදු අනුවාදය |
| 2006 | ද්වීතිය සම්මත ග්‍රන්ථ සහ තේමා පටුන සහිත ශුද්ධ බයිබලය |

ශුද්ධ බයිබලය දමිළ බසට පරිවර්තනය විය.

| | |
|---|---|
| 1759 | ලන්දේසි යුගයේ ශුද්ධ බයිබලය දමිළ බසට පරිවර්තනය කිරීම |
| 1927 | දෙමළ නව ගිවිසුම සංස්කරණය |
| 1936 | දෙමළ සම්පූර්ණ බයිබලය |
| 1954 | ශුද්ධ බයිබලයේ නව සංස්කරණය |
| 1996 | දෙමළ නව පොදු අනුවාදය |

# ශුද්ධ බයිබලයේ විවිධ පරිවර්තකයන්ගේ සේවය

| නම | පෞද්ගලික තොරතුරු බිඳක් | පරිවර්තන වර්ෂය | සේවය |
|---|---|---|---|
| ශාන්ත ජෙරෝම් පූජකතුමා | ක්‍රි. ව. 345-420 කාලයේ සිටි තාපස පූජකතුමෙකි. | ක්‍රි. ව. 405 | ❇ පැරණි ගිවිසුම ලතින් බසට පරිවර්තනය කිරීම. එය 'වල්ගේට්' නම් විය.<br><br>❇ ලතින් බසට පරිවර්තනයට අවශ්‍ය හෙබ්‍රෙව් බස ලිවීම හා කියවීම වෙහෙස වී අධ්‍යයනය කළේ ය. |
| ජෝන් වයික්ලිෆ් පූජකතුමා | බුද්ධිමත් පූජකතුමෙකි.<br><br>1384 ඔහු ස්වර්ගස්ථ විය. | 14 සියවස | ❇ ලතින් බයිබලය ඉංග්‍රීසි බසට පරිවර්තනය කිරීම.<br><br>❇ සාක්ෂරතාව අඩු ගැමි ජනතාවට ශුද්ධ ලියවිලි පහදා දීමට ඉදිරිපත් විය. |
| විලියම් ටින්ඩේල් පූජකතුමා | ඉංග්‍රීසි ජාතික උගත් පූජකතුමෙකි | 1526 | ❇ ශුද්ධ බයිබලය ඉංග්‍රීසි බසට පරිවර්තනය කිරීම.<br><br>❇ නව ගිවිසුම් පිටපත් ගණනාවක් රහසිතගව එංගලන්තයට යැවීමට කටයුතු කළේය. |
| මාටින් ලූතර් පූජකතුමා | තාපස පූජකතුමෙකි. ජර්මනියේ ආගමික ප්‍රතිසංස්කරණ ව්‍යාපාරය දියත් කරන ලදී. | 16 වන සියවස | හෙබ්‍රෙව් පැරණි ගිවිසුම හා ග්‍රීක් නව ගිවිසුම යොදා ගනිමින් ශුද්ධ බයිබලය ජර්මන් බසට පරිවර්තනය කිරීම |

ඉහත සඳහන් පරිවර්තකයන් මෙන් ම ශු. ජොහන් සුභාරංචියේ **අන්ග්ලෝ - සැක්සන්** අනුවාදය සම්පාදනය කළ ශු. බීඩ්තුමාගේ සේවය ද අගය කළ යුතුය. තව ද 1611 දී එංගලන්තයේ පළමු ජේම්ස් රජුගේ නියෝගය අනුව උගතුන්ගේ එකතුවෙන් පරිවර්තනය කළ **ඉංග්‍රීසි බයිබලය** හෙවත් **ජේම්ස් රජුගේ සංස්කරණය** විවිධ පරිවර්තන අතර වැදගත් තැනක් හිමි වේ.

.

මෙලෙස විවිධ වකවානු තුළ විවිධ ලේඛකයින් මගින් පැරණි ගිවිසුම හා නව ගිවිසුම විවිධ පරිවර්තනයන්ට ලක්විය. එසේ විවිධ පරිවර්තන සඳහා මූලිකත්වය ගෙන ක්‍රියා කළ ලේඛකයන් බොහෝ දෙනා හට පීඩා හා අභියෝගවලට මුහුණ දීමට සිදුවිය. තම ජීවිත පවා පරදුවට තබා කළ මෙහෙවර හේතුකොට ගෙන අද අපට පෞද්ගලිකව බයිබලයක් පරිහරණය කිරීමට අවස්ථාව උදාවී ඇත.

### සිතා බලන්න.

ඔබ

*දිනපතා බයිබලය කියවනවා ද ?*
*එය අධ්‍යයනය කරනවා ද ?*
*දේව පණිවුඩයට අනුව ජීවත් වෙනවා ද ?*
*දේව ආදරයේ අත්දැකීම ලබනවාද?*

### ක්‍රියාකාරකම

1. ශුද්ධ බයිබලයේ විවිධ පරිවර්තකයන්ගේ සේවය හා විස්තර ඇතුළත් කරමින් පොත් පිංචක් නිර්මාණය කරන්න.

2. ශුද්ධ බයිබලයේ ඔබ වඩාත් ප්‍රිය කරන දෙව් වදන් පෙළක් නිර්මාණාත්මකව ඉදිරිපත් කරන්න.

# 21. සහජීවනයෙන් ක්‍රියා කරමු

**ශ්‍රී ලංකාව බහු ආගමික හා බහු ජාතික ජන කොට්ඨාසවලින් සමන්විත ය. අප රට තුළ ඇත්තේ විවිධ ආගම් හා විවිධ සංස්කෘතීන්ට ගරු කරන මිනිස් සමාජයකි. එබැවින් රට තුළ සහජීවනයෙන් ජීවත් වීම සඳහා සෙසු ආගම් හා ඒවාට අයත් ලියවිලි පිළිබඳව අවබෝධයක් ලබා ගැනීම මෙම පාඩමින් අපේක්ෂිත ය.**

කිතුනු දරුවන් වන අපට ශුද්ධ බයිබලය පූජනීය ග්‍රන්ථය වන්නා සේ ම බෞද්ධයින්ට ත්‍රිපිටකය ද ඉස්ලාම් භක්තිකයින්ට කුරාණය ද හින්දු භක්තිකයින්ට වේද ග්‍රන්ථය ද වැදගත් වේ. සෑම ආගමකට ම හා ඊට අයත් ලියවිලිවලට ගරු කරමින් කටයුතු කිරීම කිතුනු දරුවන් තුළ තිබිය යුතු යහපත් ගුණාංගයකි. එමෙන් ම, සෑම ආගමික ග්‍රන්ථයක් මගින් ම ඉදිරිපත් කෙරෙන ඉගැන්වීම් පිළිබඳව මූලික අවබෝධයක්වත් ලබා තිබීම ආගමික සහජීවනයට වැදගත් වනු ඇත.

එබැවින් වෙනත් ආගමික ශාස්තෘවරුන් විසින් ප්‍රකාශ කළ දහම් පණිවුඩ හා දර්ශන පිළබඳ ව දැන ගැනීමට අපි දැන් යොමු වෙමු.

**බෞද්ධ දර්ශනය**



- බුදු දහමේ ප්‍රධාන ග්‍රන්ථය ත්‍රිපිටකය යි.
- බුද්ධ ධර්මය දර්ශනයකි.
- බුදු දහමේ මූලික ඉගැන්වීම චතුරාර්ය සත්‍යය වේ. එනම්;

  දුක

  දුකට හේතුව

  දුක නැති කිරීම

  දුක නැති කිරීමේ මාර්ගය වේ

- ❖ පාලි භාෂාවෙන් (මාගධී භාෂාව) රචිත ත්‍රිපිටකය
  සුත්‍ර,
  විනය,
  අභිධර්මය යනුවෙන් කොටස් තුනකින් සමන්විත වේ.
- ❖ ධම්ම පදය හා ජාතක පොත බෞද්ධාගමිකයින්ට වැදගත් ග්‍රන්ථ දෙකක් වේ.
- ❖ ආගමික උත්සව අතර වෙසක් උත්සවය, පොසොන් උත්සවය සහ පෝය දින වැදගත් තැනක් ගනී.
- ❖ බුදු දහමේ වැදගත් ම ඉගැන්වීම වන්නේ, විමුක්තිය උදාකර ගැනීමට තමන් විසින් ම වෙහෙස දැරිය යුතු බවත් තමා විසින් ම එය ළඟා කරගත යුතු බවත් ය.

## හින්දු ආගම



- ❖ හින්දු ආගමිකයන්ගේ ප්‍රධාන ග්‍රන්ථය වේද ග්‍රන්ථය යි.
- ❖ ශිව, පත්තිනි, විෂ්ණු, කතරගම හා ගණ දෙවියනට වන්දනා මාන කිරීම මූලික වේ.
- ❖ වේද ග්‍රන්ථ, ඍග්, යජුර්, සාම, අථර්වන් ලෙසින් කොටස් හතරකින් සමන්විත වේ.
- ❖ ඉහත ග්‍රන්ථ හතර නැවත ප්‍රධාන කොටස් හතරකට බෙදේ එනම්,
  ස්තෝත්‍ර
  බ්‍රාහ්මණ
  ආරණ්‍යක
  උපනිෂද් යනුවෙනි .
- ❖ හින්දු භක්තිකයින්ගේ ආගමික උත්සව අතර තෛපොංගල් උත්සවය, මහා ශිව රාත්‍රි උත්සවය හා දීපාවලී උත්සවය වැදගත් තැනක් හිමි කර ගනියි.
- ❖ හින්දු භක්තිකයන්ගේ අවසාන අරමුණ වන්නේ දෙවිඳුන් සමග එකතු වීමයි. හින්දු බැතිමතුන් තුළ පවිත්‍රත්වය, ආත්ම සංයමය, ලෞකික ඇලීම්වලින් තොර වීම සත්‍යය හා අවිහිංසාව වර්ධනය කිරීම හින්දු ආගමේ පරමාර්ථ වේ.

## ඉස්ලාම් ආගම



- ❖ ඉස්ලාම් ආගමේ ප්‍රධාන ආගමික ග්‍රන්ථය කුරාණය වේ.
- ❖ ඒක දේවවාදී ආගමකි.
- ❖ ඔවුහු අල්ලාහ් දෙවිඳුන්ට නමස්කාර කරති.
- ❖ මුහම්මද් නබිතුමාට වරින්වර "අල්ලාහ්" දෙවිඳුන් ප්‍රකාශ කළ ඉගැන්වීම් කුරාණයේ අන්තර්ගත ව ඇත.
- ❖ මුහම්මද් නබිතුමාගේ දේශනා 'අස්සුන්තා'නම් ග්‍රන්ථයේ පළ වී ඇත.
- ❖ ඉස්ලාම් ආගමේ උත්සව අතර රාමසාන් උත්සවය හා හජ් උත්සවය ප්‍රධාන තැනක් ගනියි.
- ❖ මුළු මිනිස් සමාජය එක පවුලක් යන ආකල්පය ඉස්ලාම් බැතිමතුන් තුළ ඇත.
- ❖ අල්ලාහ් දෙවිඳුන් කෙරේ පමණක් විශ්වාසය තබා යහපත් ලෙස ජීවත් වීමෙන් ස්වර්ග රාජ්‍යය හිමිකර ගත හැකි බව ඔවුන්ගේ විශ්වාසයයි.

ඉහත කරුණු දෙස සලකා බැලීමේ දී විවිධ ආගම් අතර විවිධත්වයක් පවතින අතර ම එකඟ විය හැකි අවස්ථා හා කාරණා ද ඇත. එබැවින් වඩා යහපත් සමාජයක් ගොඩනැගීම සඳහා සියලු දෙනා එක්ව ක්‍රියා කිරීම අවශ්‍ය වේ. සෑම ආගමකින්ම ඉස්මතු වන උතුම් ගුණාංග තේරුම් ගෙන අන් ආගමිකයන් සමග සහෝදරත්වයෙන් කටයුතු කළ යුතු ය.

තවද සියලු ආගම් සඳහා විවිධ වූ ආගමික උත්සව පැවැත්වෙනු ඇත. විවිධ වූ කාරණාවන් අරමුණු කර ගනිමින් විවිධ සංස්කෘතීන් අනුගමනය කරමින් එම උත්සව සංවිධානය වේ. එවැනි විවිධ ආගමික උත්සව අවස්ථා හා අවශ්‍යතාවල දී ආගමික වෙනස්කම් බාධාවක් කර නොගනිමින් ක්‍රියා කිරීම අවශ්‍ය වෙයි. එවැනි අවස්ථාවන්ට පාසලේ දී හෝ සමාජයේ දී සහභාගී වීමට කිතුනු ඔබට සිදු වනු ඇත. එවිට අපගේ ආගමික අනන්‍යතාව රැක ගනිමින්, අන් ආගම්වලට ගරු කරමින් සෙසු ආගම් සමග සහජීවනයෙන් කටයුතු කිරීමෙන් ඊට සහභාගි වීම වැදගත් ය.

## ක්‍රියාකාරකම

1. ඔබේ පන්තියේ අන්‍ය ආගමික මිතුරකුට හෝ මිතුරියකට කිතුනු දහම පිළිබඳ ව ඔබ ප්‍රකාශ කරන විශේෂිත කාරණා 5 ක් ලියන්න.

2. විවිධ ආගමික උත්සව සඳහා ඔබට දායක විය හැකි ආකාර 3 ක් ලියන්න.

මෙම පොතේ අන්තර්ගත රූප සටහන් සියල්ල අන්තර්ජාලය ඇසුරෙනි.